# කලහ විවාද සූත්‍රය



අති පූජ්‍ය කොත්මලේ කුමාරකස්සප හිමි

# කලහා විවාද සූත්‍රය

ලබුනෝරුව කන්ද ආරණ්‍ය සේනාසනවාසී

## පූජ්‍ය කොත්මලේ කුමාරකස්සප ස්වාමීන්වහන්සේ

2017 වර්ෂයේ ඔක්තෝම්බර් මස

මෙල්බන් නුවර දී

දේශකයාණන් වහන්සේ
පූජ්‍ය කොත්මලේ කුමාරකස්සප ස්වාමීන්වහන්සේ
ලබුනෝරුව කන්ද ආරණ්‍ය සේනාසනය
මරදන්කඩවල.

# පුණ්‍යානුමෝදනාව

ලබුනෝරුව කන්ද ආරණ්‍ය සේනාසනයේ සේනාසනාධිපති, ශාස්ත්‍රපති රාජකීය පණ්ඩිත පූජ්‍ය කොත්මලේ කුමාරකස්සප ස්වාමීන්වහන්සේ විසින් 2017 වර්ෂයේ ඔක්තෝම්බර් මස ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර, කලහා විවාද සූත්‍රය ආශ්‍රයෙන් පැවත්වූ ධර්ම දේශනාවක් සහ ධර්ම සාකච්ඡාවක් මූලික කර ගනිමින් නිර්මාණය කරන ලද දහම් කෘතියකි. මෙහිදී කථන මාධ්‍යක් ලේඛණයට නැගීමේදී යම් පුනරුක්තාදී දෝශ දක්නට ලැබීම සාමාන්‍යය දෙයකි. දේශනාවේ ධර්ම රසය උකහා ගනු කැමැත්තන් හට එය ඒතරම්ම බාධාවක්ද නොවනු ඇත.

මෙයින් අත් වන උතුම් කුසලය නිමල ශාසනික මෙහෙවරක යෙදෙන අති පූජනීය මාන්කඩවල සුදස්සන ස්වාමින්වහන්සේටත්, අති පූජනීය පිටිගල ගුණරතන ස්වාමින්වහන්සේටත්, අපට ඉතා කරුණාවෙන් දහම් මග පෙන්වාදෙන අති පූජනීය කොත්මලේ කුමාරකස්සප ස්වාමින්වහන්සේටත්, ලබුනෝරුව ආරණ්‍යවාසී කල්‍යාණ මිත්‍ර ස්වාමින්වහන්සේලාටත් ප්‍රාර්ථනා කරන බෝධියකින් උතුම් නිර්වාණය ශාක්ෂාත් වීම පිණිස හේතු උපනිශ්‍රය වේවා!

මේ උතුම් ධර්ම දානය හේතු කොට ගෙන ජනිත වන්නාවූ සියළු කුසල් ශාසනයත්, අපවත්, ආරක්ෂා කරන උතුම්වූ සියලු දෙවියන්ටත්, අප හැදූ වැඩූ දෙමාපියන්ටත්, ශිල්ප සතර කියාදුන් ගුරුවරුන්ටත් වහ වහා චතුරාර්ය සත්‍ය අවබෝධය පිණිස හේතු වේවා!

බෝහෝ ශ්‍රද්ධාවෙන් මෙම ධර්ම ග්‍රන්ථය යතුරු ලියන කටයුතු කල ලක්මි කුරුප්පු මෙනවියටත්, මුද්‍රණ කටයුතු කරදුන් ලිතාරා මුද්‍රණාලයටත් එහි කාර්ය මණ්ඩලයටත්, නන් අයුරින් උපකාරකල පිංවත් මිතුරු මිතුරියන්ටත්, නිදුක් නිරෝගී චිර ජීවනයට සහ මේ භවයේදීම, අමා මහා නිවන් සුවය සාක්ෂාත් කර ගැනීමට මෙම ධර්ම දානමය කුසලය හේතු වාසනා වේවා!

තෙරුවන් සරණයි

මෙත් සිතින්,

ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර

අමිල ප්‍රනාන්දු සහ හර්ෂිනී පුංචිහේවා

**නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස !**

**නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස !!**

**නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස !!!**

***''න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී, නොපි සඤ්ඤී න හූතසඤ්ඤී;***
***එවං සමෙතස්ස විභොති රූපං, සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා''[1].***

අද මේ පිංවතුන් මේ ස්ථානයට පැමිනියේ සද්ධර්මයෙන් බිදක් ශ්‍රවනය කරන්නයි. මම අද කලහ විවාද සූත්‍රය ආශ්‍රයෙන් දහම් කරුණු කීපයක් සාකච්ඡා කරන්න බලපොරොත්තු වෙනවා. අද ලෝකයෙ යම්තාක් කලහා, වාද, විවාද කියන ටික ඇතිවෙලා තියනවානම් ඇතිවෙලා තියෙන්නේ හැමවෙලාවකම මෙන්න මේ ධර්මය නොදන්නාකම මතයි. කලහ විවාද වෙගේම පුද්ගලභාවය ඇත්ත කරගත්ත සියලුම ධර්මතා ඒ කියන්නේ මාන, මච්ඡරිය, අතිමාන, කලහ විවාද මේ හැමදෙයක්ම ඇත්ත කරගත්ත පුද්ගලභාවය මත තමයි ගොඩනැගිල තියෙන්නේ. කලහා විවාද සූත්‍රය නිදාන කතාව අහලා ඇති නේද? රෝහිණී ගංගාවේ ජලය නිසා ඇතිවුණ ශාක්‍ය, කෝලිය දෙපිරිසේ ගැටුම හමුවේ බුදුරජාණන් වහන්සේ වැඩම කරලා මේ ප්‍රශ්නය විසඳුවා, මේ දෙපිරිස අතර ඇතිවුණ විරසකය.

ඊට පස්සේ මේ ශාක්‍ය කෝලිය දෙපිරිස එතකුවෙලා කතාකළා මේකට බුදුරජාණන් වහන්සේට කරන සත්කාරයක් විදිහට අපි කුමාරවරු ටිකක් පැවිදි කරමු. ශාක්‍ය කුළයෙන් **3**යි, කෝලිය කුළයෙන් **250**යි. **500**ක් කුමාරවරු පැවිදි කළා.

---

[1] කලහවිවාද සූත්‍රය - ඛුද්දක නිකාය, සුත්ත නිපාත, අට්ඨක වග්ග (272 පිටුව)

කතිකාවතට පැවිදි කළාට රජ කුමාරවරු නෙ පැවිදි කළේ. බලෙන් වගේ මහණ කළේ. දෙමව්පියෝ කියනවා, ඉතින් මහණ කළා. පැවිද්ද කියන දේ ලේසියෙන් කෙනෙකුට බලෙන් තියන්න පුළුවන් තැනක් නෙවෙයි. *දුප්පබ්බජ්ජන්ති,* පැවිද්ද කියන එක බොහෝම දුෂ්කරයි එහෙම නේද?. රහතන් වහන්සේනමක් දේශනා කරනවා පැවිද්ද නෙවෙයි දුෂ්කර ඇත්තටම පැවිද්දේ ඉන්න එක කියලා.

ඉතින් මේ අලුත පැවිදි වුන හාමුදුරුවරු ටිකටත් හරි අපහසුයි ඉන්න. ගෙවල් දොරවල්, තමන්ගේ පරණ ජීවිතේ සිහිපත් වෙනවා. රජ කුමාරවරු නේ ඒගොල්ලෝ. තව දුරටත් බලාපොරොත්තු තියාගෙන ඉන්න අය නේ. ඉතින් බුදුරජාණන් වහන්සේ මේක දකිනවා. දැකලා මේ අයට අනුශාසනාවක් කරන්න ඕනේ කියලා හිමාල වනයේ තියන කුනාල විල ගැන වර්ණනා කරනවා. බුදුරජාණන් වහන්සේ බොහෝම ලස්සන වර්ණනාවක් කරනවා, මෙච්චර ලස්සන විලක් හිමාල වනයේ තියනවා කියලා. ඉතින් ඔය විල ගැන වර්ණනා කරන කොට ඔක්කෝටම හිතෙනවා මේ විල බලන්න යන්න. අපි වුණත් කෙනෙක් එක්කන් යන්න ඕනේ වුණාම තැනකට ඒ තැන ගැන වර්ණනා කරනවා නේ.

ඉතින් බුදුරජාණන් වහන්සේත් වර්ණනා කළා පරිසරය ගැන ඒ හාමුදුරුවරුන්ට. හාමුදුරුවරුන්ට ආස හිතුණා මේ විල බලන්න. ඉතින් ඒ හාමුදුරුවරුන්ට ආස හිතුණාම බුදුරජාණන් වහන්සේ අහනවා මහණෙනි, කවුද යන්නේ මා සමග මේ විල බලන්න, මම ඒ පැත්තේ වඩිනවා කියලා. ඉතින් අර පන්සිය නම

ම කියනවා අපි එනවා ඒ විල බලන්න යන්න කියලා. දැන් බණ කියන්න නෙවෙයි එක්කගෙන ගියේ, විල පෙන්නන්න. ඊට පස්සේ එතන දේශනා බොහොමයක් කරනවා. එකක් තමයි කාමයේ ආදීනවය පැත්ත පෙන්නන කුණාල ජාතකය ඒවගේම ලටුකික ජාතකය, රුක්ඛ ධර්ම ජාතකය, වට්ටක ජාතකය, අන්ත දණ්ඩ සූත්‍රය වගේ ධර්ම දේශනා බොහොමයක් එතනදි දේශනා කරනවා. මේ ධර්මය අහලා මේ හාමුදුරුවරු පන්සීයම සෝවාන් වෙනවා. දැන් බුදුරජාණන් වහන්සේ දන්නවා දැන් ආයේ හෙලවෙන්නේ නෑ. ආයේ යන්න ඕනේ කියන්නේ නෑ. දැන් මේ ඇත්ත දැක්කා. ඊට පස්සේ ආපසු වඩිනවා. වැඩියහම මේ භික්ෂූන් වහන්සේලා මත්තෙහිත් හික්මීම පිණිස බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරනවා. පන්සිය නමම නොබෝ දවසකින් දහම වඩලා අරිහත්වයට පත්වෙනවා.

ඊට පස්සේ පන්සියයක් මහරහතන් වහන්සේලා පිරිවරාගෙන බුදුරජාණන් වහන්සේ වනයේ වැඩ ඉන්නවා. ඒ ආරංචිය දෙවියන්, බඹුන් අතර පැතිරුණා බුදුරජාණන් වහන්සේ සමාන කුළ ඇති, සමාන ගෝත්‍ර ඇති පන්සියයක් පිරිස සමග වැඩ ඉන්නවා කියලා. රාජ කුමාරවරු කිව්වහම, රාජකුමාරවරුගේ ලක්ෂණයක් තියනවා නේ, ඒ කියන්නේ නිකම්ම (න කසිර වුත්ති දුක්ඛං) දුෂ්කරව ඉඳලා ඇවිල්ලා පැවිදිවුණ අය නෙවෙයි. බොහෝම සුකුමාල කුමාරවරු. කායිකවත් සුකුමාලයි, විඳපු සැප සම්පත් පැත්තෙනුත් සුකුමාලයි. ඉතින් මේ හැම පැත්තෙන්ම බොහෝම ප්‍රසාදය එලවන සුළු, බොහෝම ලස්සන පිරිසක්, ශාක්‍ය වංශය ගැනත් කියන්නේ බොහෝම ලස්සන වංශයක් හැටියටනේ. රූපය පැත්තෙනුත් බොහෝම සෝභා

සම්පන්නයි, ගුණය පැත්තෙනුත් සෝභා සම්පන්නයි. හරි ලස්සනයි මේ වනය. මේ ලස්සන වනය බලන්න දිව්‍ය බ්‍රහ්මයෝ පවා රැස් වෙනවා. කොච්චර දිව්‍ය බ්‍රහ්මයෝ රැස් වුණා ද කියනවා නම් ඉඳිකටු තුඩක් ගහන්න තැනක් තිබුණේ නෑ කියනවා හිස්. එච්චර සියුම් මට්ටමේ රූප මවා ගෙන දිව්‍ය බ්‍රහ්මයෝ ආවා කියනවා මේ බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ මේ සංඝයා බලන්න. රහත් ගුණය කියන එක තියනවා නේ, අපි පුද්ගලභාවයෙන් කතා කළාට ඒ නිවුණු ගතිය නිසා පරිසරයෙත් ඇතිවෙනවා නිවුණු ගතිය.

නිකන් නෙවෙයි නේ අජාසත්ත රජ්ජුරුවෝ බය වෙන්නේ. ජීවක එක්කගෙන එනවා අජාසත්ත රජ්ජුරුවෝ තමන්ගේ අඹ උයනට පෙන්නන්න. එහි භික්ෂූන් වහන්සේලා පන්සියයක් පිරිවරාගෙන බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා. අජාසත්ත රජ්ජුරුවෝ බය වෙනවා මගදි. අහනවා උඹ මාව මරන්න ද එක්කගෙන යන්නේ කියලා. ඇයි පන්සියයක් පිරිසක් ඉන්නවා කිව්සුමක් අරින හඬක් නෑ. ඉතින් හිතන්නේ නෑ පන්සියයක් ඉන්නවා කියලා. හිතන්නේ උගුලකට එක්කගෙන යනවා කියලා. ඉතින් එච්චර හික්මුණු පිරිසක්. සාමාන්‍ය පන්සියයක් හිටියොත් එහෙම අතපය අමාරුවට අතපය දිගහරින ශබ්දයම කොච්චර තියෙයි ද? නමුත් එහෙමවත් නැතුව මේ වැඩ ඉන්නේ ඒ රහත් සිතක බලපෑම නැතිවෙන්නේ නෑ. සාමාන්‍යයෙන් අනුරාධපුර පොළොන්නරුව දිහාට යනකොට හිත නිවෙන ගතියක් තියෙන්නේ. පූජා භූමියට ඇතුළුවෙන කොටම, එකක් අපි චේතනාව පැත්තෙන් ඇතිකරගන්න නිවීම. අනිත් එක ඒ භූමිය තුළ ඒ හික්මුණු බව. ඉතින් මේ හික්මුණු බව

නිසා තමයි දෙවියෝ පවා රැස්වුණේ මෙතන බලන්න, දකින්න මේ ආශ්චර්යමත් සිද්ධිය. මේ දෙවියෝ ඇවිල්ලා මෙතන රැස්වෙලා ඉන්න කොට, මහාසමය සූත්‍රය බුදුරජාණන් වහන්සේ දේශනා කළා. මහාසමය සූත්‍රයේ දි තියෙන්නේ මහා සේනාවක් රැස්වුණා කියලා. එතකොට මහාසමය සූත්‍ර දේශනාව එතනදි දේශනා කරලා මත්තෙහිත් මේ දිව්‍ය බ්‍රහ්මයන්ට යම් දහමක් දේශනා කරනවා නම් ඒ දහම දේශනා කරන්නේ කොහොමද කියලා කල්පනා කරනවා.

බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරන ක්‍රම කිහිපයක් තියනවා. එකක් තමයි *අත්තජ්ඣාසය* – තමාට අදහස් වෙන විදිහට. *පරජ්ඣාසය* – අනුන්ගේ අදහසට අනුව දේශනා කරන එක *පරත්ථජ්ඣාසය*. ඊට පස්සේ *පුච්ඡාවසික* – *පුච්ඡාවසික* කියන්නේ ප්‍රශ්න අහමින් දේශනා කරනවා. *අට්ඨුප්පත්තික* – යම් අර්ථයක් ඉපදුණු කල්හි ඒ ඉපදුණු අර්ථය සලකාගෙන ධර්ම දේශනා කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ වෙලාවේදි කල්පනා කරනවා මේ පිරිසටම සාධාරණ වෙන්න ප්‍රශ්න අහන ක්‍රමයට යම් ධර්මයක් දේශනා කරනවා නම් හොඳයි කියලා. ඊට පස්සේ ප්‍රශ්න විසර්ජන ක්‍රමයට ප්‍රශ්නයක් අහන්න. මහා විශාල පිරිසක් ඉන්නවා දැන්. මේ ඔක්කොටම ගැලපෙන්නත් ඕනේ. දැන් මම බණක් කියන කොට අපේ තියන ලක්ෂණය මොකද්ද? කෙනෙකුට තේරෙනවා, කෙනෙකුට තේරෙන්නේ නෑ, කෙනෙකුට මොකුත්ම තේරිලා නෑ, කෙනෙකුට ඒක සරළ වැඩිවෙලා. තව කෙනෙකුට ඒක ගැඹුරු වෙලා. එක එක්කෙනාගේ මට්ටම් අනුව ධර්මය වෙනස් වෙලා.

බුදුරජාණන් වහන්සේට ආසයානුසය දන්නා ඤාණය තියනවා බුදුරජාණන් වහන්සේ බලනවා මේ ඔක්කෝටම ගැලපෙන්න කොහොමද දහමක් දේශනා කරන්නේ. ඊට පස්සේ බලනවා දිව්‍යබ්‍රහ්මයන් අතරින් පවා කවුද සුදුසු මගෙන් මේ ඔක්කොටම ගැලපෙන විදිහට ප්‍රශ්නයක් අහන්න. එතකොට මට පුළුවන් ඒ ප්‍රශ්නය විසඳන්න කියලා බලනවා. එක් කෙනෙක්වත් පේන්නේ නෑ. භික්ෂු සංඝයා අතරත් බලනවා භික්ෂු සංඝයා අතරත් මේ සියලු පිරිසට සාධාරණ ප්‍රශ්නයක් අහන්න කෙනෙක් නෑ. ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ නිර්මිත බුදුරුවක් මවලා, බුදුරජාණන් වහන්සේ අහනවා, බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්න. බුදුරජාණන් වහන්සේ ඒක විසඳනවා. මෙන්න මේ ක්‍රමයට බුදුරජාණන් වහන්සේ සූත්‍ර කිහිපයක් දේශනා කරනවා. සුත්ත නිපාතයේ සඳහන් වෙන සූත්‍ර කිහිපයක් තියනවා. චූලව්‍යූහ සූත්‍රය, මහාව්‍යූහ සූත්‍රය, දුට්ඨට්ඨක සූත්‍රය මේ සූත්‍ර ටික බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ මේ අවස්ථාවේදි. ඒ එක එක සූත්‍රයේ තියන ලක්ෂණය තමයි මුල ඉඳලා ඒ චරිත වලට ගැලපෙන විදිහට දේශනා කරනවා. රාග චරිතයාට එක සූත්‍රයක් දේශනා කරනවා. එයාට ගැලපෙන විදිහට තමයි ප්‍රශ්න අහන්නේ. ප්‍රශ්න විසඳන්නේ. දැන් එයාගේ ප්‍රශ්න ටික ඉවරයි. ඊට පස්සේ ද්වේශ චරිතයාට ගැලපෙන විදිහට අහනවා. මෝහ චරිතයාට ගැලපෙන විදිහට, විතර්ක චරිතයාට ගැලපෙන විදිහට මේ විදිහට එක එක සූත්‍රය එක එක් කෙනාට ගැලපෙන විදිහට ප්‍රශ්න අහනවා. ඒකට ගැලපෙන දහම ඊට පස්සේ දේශනා කරනවා.

මේ කලහවිවාද සූත්‍රය බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ ද්වේශ චරිතයාට. තරහ තියන කෙනාට ඒ ප්‍රශ්නය

විසඳෙන විදිහට එයාට සුදුසු දහම දේශනා කරන්නේ. ඉතින් මේ සූත්‍රය තෝරගත්තේ මේ පින්වතුන් තරහෙන් ඉන්න නිසා තරහා නිවන්න කියලා නෙවෙයි. මේකේ බොහෝම වටිනා ලස්සන ගාථාවක් තියනවා. මේ ගාථාව නිසයි තෝරගත්තේ.

*''න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී, නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී;*
*එවංසමෙතස්ස විභොති රූපං, සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා''.*

කියන ගාථාව බුදුරජාණන් වහන්සේ මේ සූත්‍රයේදී තමයි දේශනා කරන්නේ. ඒ තුළ තියනවා නිවනේ ලක්ෂණය සහ මාර්ගයේ ලක්ෂණය කොතනින්ද අපි අල්ලගන්න ඕනේ කියන එක. ඒ කියන්නේ කොටින්ම මේකත් නෙවෙයි, මේකත් නෙවෙයි, මේකත් නෙවෙයි මෙන්න මේකයි කියලා කියනවා. හරියට ආනාපානසතිය ගැන කතාකරනවා වගේ, ආනාපානසතියේ අටලොස් විතර්ක ටික (උපක්ලේශ) අයින් කරලා බලන කොට හිතෙනවා ආනාපාන සතිය කියලා දැන් හිත තියන්නේ මොකටද කියලා? ඒ තරමට උපක්ලේශ. අද ඉන්න 99.9% ආනාපානසතියේ උපක්ලේශවල ඉන්නේ. එතකොට මෙතනදි හැමවෙලාවකම මේ මාර්ගයේ ලක්ෂණය තමයි බුදුරජාණන් වහන්සේ එක පෙළක් අරගෙන දේශනා කරනවා නිවන දක්වාම යන පිළිවෙලක්. මේකෙදි ගොඩාක් ප්‍රශ්න අහනවා. විසර්ජන වශයෙනුත් හැම ප්‍රශ්නයටම උත්තර දෙනවා. කොහොමද මේ පෙළ අපේ ජීවිතේට යෙදෙන්නේ කියන එකෙන් එක පෙළක් විතරක් ගත්තා.

ලෝකේ තුළ කලහවිවාද තියනවා. කලහවිවාද කියන්නේ ඇනුම්බැනුම්, විවාද කරගැනීම්, තර්ක විතර්ක මේ හැමදෙයක්ම කලහවිවාද ගනයට අයිතිවෙන දේවල්. එතකොට මේ ඇනුම්බැනුම්, ගහමරාගැනිම්, යුධකෝලාහල මේ හැමදෙයක්ම කලහවිවාද ගණයටයි අයිති වෙන්නේ. විවාදයේ ලක්ෂණය තමයි තර්ක කරගන්න බව, වාදවිවාද කරගන්න බව. ඒක නිසා අපිට දහම තුළවත් කලහ තියෙන්න බෑ. විවාද තියෙන්න බෑ. බෞද්ධ දර්ශනය කියනේ සැම විටකදීම තර්ක කරලා තර්කාණුකූලව මෙන්න මෙහෙමයි කියලා කියන්න පුළුවන් දහමක් නෙවෙයි. ඒකයි *න තක්ක හේතු*, තර්ක කරලා පෙන්නන්න පුළුවන් දෙයක් නෙවෙයි කියලා කිව්වේ. අපි ධර්මය කතාකරන කොට පවා අපි කලහ විවාද වලට නොවැටෙන්න ඕනේ. හැම වෙලාවෙම කලහයක් ඇතිවෙන්න හේතුව මොකද්ද? වාද විවාද ඇතිවෙන්න හේතුව මොකද්ද? සත්වයෙක්, පුද්ගලයෙක්, යමක්, දෙයක් ඇත්ත වීම තුළයි. හැම වෙලාවකම තව කෙනෙකුට වචනයක් කියන්නේ, කෙනෙක් එක්ක ගැටෙන්නේ, දඬු මුගුරු ගන්න හෝ ආයුධ ගන්න ගහ මරා ගන්න තැනකට යන්නේ පුද්ගලභාවයක් ඇත්තවීම තුළයි.

බුදුරජාණන් වහන්සේම අහනවා බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්නයක් මේ කලහවිවාද කොහෙද හටගන්නේ? කලහවිවාද මොන ධර්මතාවය ඇතිකල්හි ද හටගන්නේ?

එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කලහවිවාද මේ ලෝකේ හටගන්නේ ප්‍රිය වස්තු ඇතිකල්හි. ප්‍රිය වස්තු තියන කොට ප්‍රිය වස්තු ගැන කලහවිවාද ඇතිවෙනවා.

ප්‍රිය වස්තු කොහොමද හටගන්නේ? කාමච්ඡන්දය නිසා.

කාමච්ඡන්දය කොහෙද හටගන්නේ? සාතා අසාත වේදනාව තුළ. සාතා අසාත වේදනාව කොහෙද හටගන්නේ? ස්පර්ශය නිසා. ස්පර්ශය කොහෙද හටගන්නේ? නාමරූප ධර්මතා දෙක නිසා.

ඔය ටික තමයි පෙළ වශයෙන් දක්වන්නේ. එතකොට කලහවිවාද, ප්‍රිය වස්තු නිසා. අපිට ප්‍රිය වස්තු මොනවද? **ප්‍රිය වස්තු හම්බවෙන්නේ රූපය පැත්තෙන්, ශබ්දය පැත්තෙන්, ගන්ධය පැත්තෙන්, රසය පැත්තෙන්, ස්පර්ශය පැත්තෙන්, මනස පැත්තෙන්.**

අපි කැමති දේ රැකගන්න, අපි කැමති පුද්ගලභාවය හිතේ ඇතිකරගත්ත දේ රැකගන්න අපි කවුරුත් කැමති. ඒක අපි කා තුළත් තියන ලක්ෂණය. ඒක නිසා අපි කැමති නෑ අපි ගැන කවුරුවත් වැරදි ආකල්පයක්වත් හිතනවට. ඒක පවා හදන්න තමයි අපි උත්සාහවත් වෙන්නේ. අපි හොඳාකාරවම දන්නවා තව කෙනෙක්ගේ හිතක් අපිට නවත්වන්න පුළුවන් ද බැඳලාවත්? බෑ. නමුත් අපි උත්සාහවත් වෙනවා කොහොම හරි නැතිකරන්න. ඇයි? ප්‍රිය වස්තු. ඉතින් තර්ක විතර්ක කරලා හරි තමන්ගේ මතය කියලා හරි තමන් හදනවා තමන් නිවැරදි වෙන්න ලෝකේ තුළ. ඇයි ප්‍රිය වස්තුව තියනවා. මොකද්ද ප්‍රිය? *චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං*, ඇස ලෝකේ ප්‍රිය රූපයයි, සාත රූපයයි, අපි නිතර කතාකරන දෙයක්. ඇස ලෝකේ ප්‍රිය මධුර දෙයක්, කන, නාසය, දිව, ශරීරය, මනස ලෝකේ ප්‍රිය මධුර දේවල්. ප්‍රිය මධුර දේවල් මත මේ එකම දෙයක් හම්බවෙලා තියනවා ප්‍රිය මධුර දේ හැටියට? මොකද්ද? **අපේ මනස තුළ ඇති කර ගත්ත ආත්මදිට්ඨිය හැමවෙලාවෙම ප්‍රිය මධුර දේ විදිහට**

**අල්ලගෙන තියනවා. කොහෙන් ගියත් පිනවන්න යන්නේ මොකද්ද? තමන්ගෙම මනස.**

රූපය බලලා රූපය පැත්තෙන් සතුටු වෙනවා. රූපය හොඳයි කියලා කියනවා. හොඳයි කියලා කියනකම නිසා සතුටු වෙනවා. හොඳයි කියනකම ඇතිකළේ කොහෙන් ද? තමන්ගේ පැත්තෙන්. රූපය කියන දේ තුළ කවදාවත් හොඳ තිබුණේ නෑ, හොඳ තිබුණා නම් ලෝකේ ඔක්කෝටම සමානම රූප සැපදායක වෙන්න වෙනවා. ඒක නිසා තමයි ධම්මසඞගණී ප්‍රකරණයේ රූප කාණ්ඩයේ දි අපි කතාකළා *සබ්බං රූපං න සුඛසහගතං*, සුඛ සහගත දෙයක් නෙවෙයි. රූපය කියන එක සැපසහගත ධර්මයක් නෙවෙයි. කවදාවත් රූපයෙන් සැප එන්නේ නෑ. අපි බලාපොරොත්තු වෙන්නෙම රූපය තුළ සැපසහගත බව. ඒක නිසාම අපි රූප හොයනවා. සැපවත් රූපය හොයනවා.

මොකද්ද සැපවත් රූපය හොයන්න හේතුව කාමච්ඡන්දය. ඡන්දය කියන්නේ කැමැත්ත කියන එකට. කැමැත්ත මොකේටද? කාමයට. කාමය කියන්නේ හිතේ පිනායනබව. හිතේ පිනායන බව අපිට හම්බවෙන්නේ කොහෙන් ද? ප්‍රිය වස්තු වලින්. කාමච්ඡන්දය හිතේ හටගන්න දේ. කාමය කියන්නේ ප්‍රිය වස්තුවලට ඇලෙනගතිය. ඡන්දය කියන්නේ කැමැත්ත. ඇලෙනගතිය අපිට හම්බවෙන්නේ ප්‍රිය වස්තුන්ගෙන්. වස්තුව එළියෙන් දකින කොට එකට වටිනාකමක් දෙනවා එවිට අපිට ඒක බලන්න අහන්න, රස දැනගන්න, සුවද දැනගන්න, පහස දැනගන්න, ඕන වෙනවා එවිට ඒක අත්පත් කරගන්න කටයුතු කරන්නවා ආරක්ෂා කරගන්න රැකගන්න ලෝකේ තුළ කටයුතු කරන්න වෙනවා.

කාමය හටගත්තේ කොහෙද? *නෙතෙ කාමා යානි චිත්‍රානි ලොකෙ'*[2], *'සඞ්කප්පරාගො පුරිසස්ස කාමො,'* කාමය කියන එක බාහිර තිබුණ දේ නෙවෙයි. හිතේ හදාගත්ත ටික. තමන් තුළ හදාගත්ත කැමැත්ත අපිට හම්බවෙන්නේ රූපය තුළ. පතිත කරනවා කෙලින්ම රූපයට. අපි කැමති රූපය අපිට හම්බවෙන්නේ. ආදරණීය දරුවා අපිට හම්බවෙන්නේ. කැමති වස්තුවයි ලෝකේ තුළ හම්බවෙන්නේ. හිතේයි කැමැත්ත. ඒ කැමැත්ත පතිත කළේ බාහිර වස්තුවට. කැමති දේ රැකගන්න, වස්තුව රැකගන්නයි දැන් උත්සාහවත් වෙන්නේ. රකින්න හදන්නේ කොහෙන් ද? ලෝකේ තුළ. කැමැත්ත ඇතිවුණ පැත්ත නෙවෙයි දකින්නේ, කැමති වස්තුවමයි හම්බවෙන්නේ. කැමති වස්තුවත් එක්ක අපි උත්සාහවත් වෙනවා මේ වස්තුව රැකගන්න. දැන් කලහ විවාද ඇතිකරගන්න පුළුවන්. හොරෙක් ආවොත් කැමති දේ ගන්න බනින්න පුළුවන් නම් බනිනවා, ගහන්න පුළුවන් නම් ගහනවා. මරන්න පුළුවන් නම් මරන්නවා.

**කැමති වස්තුව කියන කොට බාහිර ඇති දේ විතරක් නෙවෙයි. තමනුත් වස්තුව තමයි. තමන් තරම් වස්තුවක් ලෝකේ වෙන නෑ. තමන් තමයි ලෝකේ තියන ලොකුම වස්තුව**. ඒක නේ කොසොල් රජ්ජුරුවන්ට තරහා යන්නේ දවසක්. මල්ලිකා දේවියගෙන් අහනවා 'කව්ද මේ ලෝකේ වැඩිපුරම ප්‍රිය' කියලා. රජ්ජුරුවෝ බලාපොරොත්තු වෙන්නේ රජ්ජුරුවෝම ප්‍රියයි කියයි කියලා. දේවිය කියනවා 'මට ප්‍රිය මාව' කියනවා. ඊට පස්සේ තරහා ගිහිල්ලා ප්‍රශ්නයකුත් ඇතිවෙනවා. අන්තිමටම බුදුරජාණන්

[2] නිබ්බෙධික සූත්‍ර - මහාවග්ග, ඡක්ක නිපාත, අඞ්ගුත්තර නිකාය 4 (පිටුව 200)

වහන්සේ ළඟට ගිහිල්ලා තමයි ප්‍රශ්නය අවසාන වුණේ. ඒ නිසා මේ ලෝකේ තියන ලොකුම වස්තුව තමන්ට තමන්. ඒක නිසා තමයි තමන් කියන වස්තුව මතට වචනයක් ඇහෙන කොටම මොකද වෙන්නේ? මට මෙහෙම කිව්වා මට මෙහෙම කරා කියපු මනුස්සයා දැන් එළියේ ඉන්නවා. දැන් ගහන්න පුළුවන්, බනින්න පුළුවන්, තර්ක කරන්න, විතර්ක කරන්න පුළුවන්. දැන් හැමවෙලාවකම ලෝකේ ඇත්ත කරගත්තා. හිතේ හදාගත්ත කාමය. තමන් තමන්ට හොඳ චරිතය හදාගත්තා. ඒකට ප්‍රතිවිරුද්ධ විදිහට හම්බවුණා වස්තුව පැත්තෙන්, දැන් ගැටෙනවා, කලහ කරනවා වාද විවාද කරනවා.

එතකොට මේ කලහවිවාද ඇතිවුණේ කුමක් නිසා ද? ප්‍රිය වස්තු නිසා. ප්‍රිය වස්තු ඇතිවුණේ කුමක් නිසා ද? කාමච්ඡන්දය නිසා. කාමච්ඡන්දය ඇතිවුණේ කුමක් හේතු කරගෙන ද? සාත අසාත වේදනාව. සාත අසාත වේදනාව කියන්නේ සැප, දුක්. සාතය කියන්නේ මිහිරි කියන අර්ථයෙන්. අසාත කියන්නේ අමිහිරි වේදනාව. සාත අසාත වේදනාව අරඹයා තමයි ලෝකේ කාමච්ඡන්දය හටගන්නේ. හැම වෙලාවකම සියලු ධර්මතා වේදනාව සමව සරණ කරගෙනයි තියෙන්නේ. ඒ කියන්නේ අපිට තියෙන්නේ වේදනා ලෝකයක්. විඳීම පැත්තෙනුයි අපි කැමති. ***ආරම්මණ රසං වින්දතීති වේදනා*, ආරම්මණ රස විඳින නිසයි වේදනාව කියලා කියන්නේ. ආරම්මණ රසය විඳිනවා කියලා කියන්නේ, අපි විඳින්නේ මේ අරමුණේ රස.** ශරිරයට ආහාරය දාලා ආහාරයේ තියන ඕජා සාරය උරාගෙන, රොඩ්ඩ අසූචි ලෙස අයින් කරනවා වගේ බාහිරෙන් ඇසට රූපය ආවට රූපයෙන් අපි උරාගන්නේ අරම්මණ රසය. විඳින බව විතරයි. අපිට රූපය

විඳින්න පුළුවන්. අපි ඒකයි ප්‍රිය පුද්ගලයා විඳින්නේ. අප්‍රිය පුද්ගලයා එක්ක ගැටෙනවා. ප්‍රිය රසය අපි විඳිනවා. කොටින්ම අපි මී අඹ රසයම විඳිනවා කොහොඹ රසයම විඳිනවා. ප්‍රිය රසයේ ඇලෙනවා අප්‍රිය රසයේ ගැටෙනවා. සාත අසාත වේදනාව, වේදනාව පැත්තෙනුයි අපි විඳින්නේ. සැප වේදනාව, දුක් වේදනාව, උපේක්ෂා වේදනාව එච්චරයි ලෝකේ තියෙන්නේ. පින්වතුන්ට සැප වේදනාව, දුක් වේදනාව, උපේක්ෂා වේදනාවෙන් තොර දෙයක් සිහිපත් කරන්න පුළුවන් ද? එක්කො මතක් කළොත් සැප සහගත දෙයක් මතක් කරයි. එක්කෝ දුක් සහගත දෙයක් මතක් කරයි. එක්කෝ සැපත් නොවෙන දුකත් නොවෙන දෙයක් ගැන මතක් කරයි. ඔය වේදනා තුන විතරයි මතක් කරන්න පුළුවන්.

හැමවෙලාවකම මතක හිටින ලක්ෂණය මොකද්ද? වේදනාව. අරමුණ කඩලා, බිඳලා, රොඩ්ඩක් කරලා අපි ගත්තේ වේදනාව. ඉතුරු ටික පැත්තක දැම්මා. වේදනාව නැත්නම් රූපය වටිනවා ද? රූපයේ වටිනාකම ශත පහක්වත් නෑ. අපිට වටින්නේ වේදනාව. වේදනාව විඳින්නයි ආස හිතෙන්නේ. ආස හිතෙන වේදනාව දකින්නේ කොහෙද? බාහිර රූපේ තියනවා කියලා. ඒකයි රූපය හොයන්නේ. රූපය හොයන්නේ අපිට රූපය ඕනේ නිසා නෙවෙයි. අපිට අවශ්‍ය වේදනාව. වේදනාව ලබාගන්නයි රූපය හොයන්නේ වෙන මොකටවත් නෙවෙයි.

සිංදුවක් අහන්න, හඬේ මිහිරිබව හොයන්නේ ඇයි? මිහිරිබව හිතේ විඳින්න ආස නිසයි. ඒකට මොකක් හරි ශබ්දයක් දුන්නා කියලා බෑ දැන්. හිත කැමති මිහිරි හඬ දෙන්න ඕනේ. වෙන දෙයක් දිලා බෑ. රසය වින්දේ කවුද? මනසයි. මනස විඳින දේම

දෙන්න වුණා. වෙන දෙයක් දීලා බෑ. හිතේ හදාගත්ත මිහිරිබව දකින්නෙ කොහේ තියන දේ හැටියට ද? ශබ්දේ තියන දේ හැටියට. ශබ්දයම මිහිරි නම් ඔක්කෝම අමරදේව මහත්තයාගේ සිංදු අහන්න ඕනේ. අමරදේව මහත්තයාගේ සිංදුව නම් මිහිරි, ලෝකේ ඔක්කොටම අමරදේව මහත්තයාගේ සිංදු අහන්න වෙනවා. දැන් කෙනෙක් අමරදේව මහත්තයාගේ සිංදුව දැම්මොත් එහෙම ඒකට සමහරු කැමති නෑ. කෙනෙක් කැමති වෙනත් විදිහේ සිංදු වලට. එතකොට අපි සිංදුවට කැමති කියලා කැමති වුණේ මොකටද? හිතේ හදාගත්ත වේදනාවට.

දැන් සාත, අසාත වේදනා දෙක මොකටද හේතු වුණේ? කාමච්ඡන්දය. අපි හදාගත්ත වේදනාව විඳින්න කැමතිවුණා. සැප වේදනාව විඳින්න කැමති වුණා, දුක් වේදනාව විඳින්න අකමැති වුණා. සාත අසාත වේදනාව නිසා කාමච්ඡන්දය. කාමච්ඡන්දය නිසා ප්‍රිය වස්තු අපිට ලෝකේ තුළ හම්බවුණා. අප්‍රිය වස්තු හම්බවුණා. ඇයි, වේදනාව අනුව අපි වර්ග කළා. ලෝකේ වර්ග කරන්නේ මේ වේදනාව අනුව. මම කැමති දේවල්, මම අකමැති දේවල්. දැන් කැමැත්ත අකමැත්ත ඇතිකළේ කොහෙන් ද? හිතේ හදාගත්ත වේදනාව පැත්තෙන්. අපි කැමැත්ත අකමැත්ත වර්ගී කරණය කළේ රූපය පැත්තෙන්. එතකොට ඒ කැමති දේ වලට ප්‍රශ්නයක් එනකොට ඉදිරිපත් වෙනවා අන්න කලහ විවාද වලට. තමන්ගේ අදහසකට හෝ විරුද්ධව යනකොට එකතු වෙන්නේ ඒ පැත්තට තමා.

එතකොට මේ සාත, අසාත වේදනාව කුමක් නිසා හටගන්න දේ ද? ස්පර්ශය නිසා. ස්පර්ශයක් නැත්නම් සාත, අසාත වේදනාවක් නෑ. සාත අසාත වේදනාව ස්පර්ශ නිධාන

කොට ස්පර්ශ සමුදය කොටයි තියෙන්නේ. ස්පර්ශය කුමක් සමුදය කොට ගෙන ද? නාමරූප සමුදය කරගෙන. නාමරූප නිසා ස්පර්ශය, ස්පර්ශය නිසා සාත, අසාත වේදනා, සාත අසාත වේදනා නිසා කාමච්ඡන්දය, කාමච්ඡන්දය නිසා ප්‍රිය වස්තු, ප්‍රිය වස්තු නිසා කලහ විවාද. දැන් ඕක තමයි අපේ ජීවිතේ. අපි පුද්ගලභාවය ඇත්ත කරගැනීම තුළ දැන් සිද්ධවෙන, අද දවසේදි තියන ක්‍රියාකාරකම.

දැන් කොහොමද ලෝකේ කලහ විවාද නැතුව ඉන්නේ කියන එකයි බුදුරජාණන් වහන්සේ සූත්‍රයේ සංක්ෂිප්තව ඇහුවේ. කලහ විවාද දුරුකරගන්න ක්‍රමය. එතකොට උත්තර දෙනවා බුදුරජාණන් වහන්සේම මේ රූපය පිරිසිඳ දැක්කොත්, *විභොති රූපං*, මේ ඇත්ත දැක්කොත් එයාට මේ කලහ විවාද හටගන්නේ නෑ. කොහොමද රූපය පිරිසිඳ දකින්නේ? එයාට කිව්වා අර ගාථාව.

''*න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී, නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී;*
*එවංසමෙතස්ස විභොති රූපං, සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා*''.

***න සඤ්ඤසඤ්ඤී*** කිව්වේ සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් වුණේ නෑ. සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තා කියලා කියන්නේ කවුද? මේ අපේ මට්ටම. මොනවද සඤ්ඤා අපිට තියෙන්නේ? රූප සඤ්ඤා, ශබ්ද සඤ්ඤා, ගන්ධ සඤ්ඤා, රස සඤ්ඤා, ඵොට්ඨබ්බ සඤ්ඤා, ධම්ම සඤ්ඤා. මාර්ගයත්, ඵලයත් සඤ්ඤාවෙන් සඤ්ඤා ඇති දෙයක් වෙන්න බෑ. එතකොට ලක්ෂණය මොකද්ද කියලා අරමුණු කරගන්න ඕනේ. සඤ්ඤාවෙන් සඤ්ඤා තියෙන්න බෑ. *න සඤ්ඤ සඤ්ඤී.*

***න විසඤ්ඤසඤ්ඤී*** - විසඤ්ඤී පුද්ගලයෝ ඉන්නවා ලෝකේ තුළ. සිහි විසඤ්ඤ කරනවා කියන්නේ. සිහි නැතිකරලත් නෑ. සිහිය තියනවා. චිත්ත කියලා කියනවා, ඒ කියන්නේ වික්ෂිප්ත සිත් ඇතිබවට යක්ෂයෝ ආරූඪ වෙලා හරි මේ විදිහට සඤ්ඤා විපර්යාසයකට පත්වෙච්ච කෙනෙකුත් නෙවෙයි. එහෙමත් නෑ. ප්‍රකෘර්ති සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙත් නෑ. සිහි විසඤ්ඤා කරලත් නෑ.

***නොපි අසඤ්ඤී*** - අසඤ්ඤී කෙනෙකුත් නෙවෙයි. අසඤ්ඤී කියලා කියනවා නෙවසඤ්ඤානාසඤ්ඤා ඵලයට පත්වෙච්චි කෙනා. නිරෝධ සමාපත්තියට සමවැදුනු කෙනා අසඤ්ඤී, සඤ්ඤා නෑ.

***න විභූතසඤ්ඤී*** - සඤ්ඤා විභූත කරනවා කියලා කියන්නේ අරූප ධ්‍යාන හතරක් තියනවා, අරූප ධ්‍යාන හතරට පත්වෙලා නෑ. ඒ කියන්නේ ආකාසය පිළිබඳ වඩලා හෝ විඤ්ඤාණය පිළිබඳ වඩලා හෝ ආකිඤ්චඤ්ඤායතනය පිළිබඳ වඩලා හෝ නෙවසඤ්ඤානාසඤ්ඤායතනය පිළිබඳ වඩලා හෝ මේ විදිහේ සඤ්ඤාවක් ඇත්තෙත් නෑ රූපය ගැන. විභූත සඤ්ඤාවකුත් නෙවෙයි. සඤ්ඤාව පතුරලා ඒ දේ අයින් කරලත් නෑ.

ඔන්න ඔය ටිකෙන් ඇතිකෙනා මේ රූප නිරෝධය ශාක්ෂාත් කරනවා. ප්‍රකෘර්ති සඤ්ඤාවත් නෙවෙයි මේ ඉන්න මට්ටමත් නෙවෙයි. *න විසඤ්ඤසඤ්ඤී*, සිහි නැතිවෙලත් නෙවෙයි. *අසඤ්ඤී* වෙලත් නෑ. *නවිභූති සඤ්ඤී*, සඤ්ඤාව කියන එක අයින් කරලත් නෑ. දැන් ඔන්න ඔය මට්ටමටයි මාර්ගයයි, ඵලයයි. ඔය මට්ටමෙන් මාර්ගයයි, ඵලයයි දෙකම හම්බවෙලා තියෙන්න ඕනේ.

දැන් කෙනෙක් කතාකරනවා නම් මේ සඤ්ඤාවමයි දැක්ක යුත්තේ කියලා සඤ්ඤා මට්ටමෙන් කතාකරනවා නම් ඒකත් වැරදි. *න සඤ්ඤසඤ්ඤී*, එතනට යන්න පුළුවන් කමක් ඇත්තේ නෑ. න *විසඤ්ඤසඤ්ඤී*, යම් කෙනෙක් කතාකරනවා නම් මේ සඤ්ඤා ටික ඔක්කොම නැතිවුණා නම් හරි කියලා එහෙම මට්ටමකුත් නෙවෙයි. එහෙම මට්ටමක් වුණොත් සිහි නැතිකරපු මනුස්සයා නිවන් දකිනවා. ඒ වගේම අසඤ්ඤතලයකට පත්වුණත් ඒ කෙනාට පුළුවන්කමක් නෑ. සඤ්ඤාවක් නැති මට්ටමටම පත්කරලා ඒ මට්ටමමේ සඤ්ඤා නැති මට්ටමකින් පුළුවන්කමක් ඇත්තේ නෑ. නිරෝධ සමාපත්තියකට සමවදින මට්ටමින් පුළුවන් කමක් ඇත්තේ නෑ. ඒ වගේම අරූප ධ්‍යානයකට පත්වෙන සඤ්ඤාවකිනුත් බෑ. *ඒවංසමෙතස්ස විභොති රූපං*, මෙන්න මේ මට්ටම දුරුකරගත්ත කෙනාට *විභොති රූපං* රූපය දුරුවෙන මට්ටමට එනවා.

එතකොට දැන් හැමවෙලාවකම අපේ සඤ්ඤාව පතිත වෙන්න ඕනේ, සඤ්ඤාව ඇතිවෙන්න ඕනේ දේ ගැනයි මේ කතාකරන්නේ. දැන් ඔය මට්ටම තුළයි කෙනෙකුට සඤ්ඤාව ඇත්ත කරගන්න බැරි බවක් තියෙන්නේ. මේ සඤ්ඤාව පැත්තෙන් කතාකරන එක බොහෝම සියුම්, ගැඹුරු කාරණාවක්. එතකොට සඤ්ඤාව පැත්තෙනුයි අපි කතාකරන්නේ කියලා කියන්නේ **රූප සඤ්ඤා, ශබ්ද සඤ්ඤා, ගන්ධ සඤ්ඤා, රස සඤ්ඤා, ඵොට්ඨබ්බ සඤ්ඤා, ධම්ම සඤ්ඤා ඔය සඤ්ඤා හය තමයි සඤ්ඤා ලෝකේ. එතකොට ඔය සඤ්ඤා එකක්වත් තියෙන්න පුළුවන්කමක් නෑ මාර්ගය වඩන කෙනාට. මාර්ග සිත් තුළ ඔය**

**සඤ්ඤා එකක්වත් නෑ.** එතකොට ඒ සඤ්ඤා එකක්වත් නෑ කියන කොට මේකේ ලොකු අර්ථයක් කියනවා. ඒ අර්ථය තමයි,

**ළලය තුළ හැම වෙලාවකදිම මේ තමන් ඉන්නවා කියලා දකින්නා ඉතුරු කරන බවක් කතා කරන්නේ නෑ. මාර්ගය තුළ දකින්නා ඉතුරු වෙන බවක් කතා කරන්නෙත් නෑ. දකින්නා ඉතුරු වෙනබවක් කොහෙත්ම මෙතන නෑ. එකියන්නේ ලෝකය හමුනොවන මට්ටමක්.**

ඒක නිසා තමයි මේ කතාව කියන්නේ. ප්‍රකෘර්ති සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් නෙවෙයි. මේ දැන් අපිට තියන සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් නෙවෙයි කියන කොට මේ එකක්වත් ඇතිබවට මේ හම්බවෙන සඤ්ඤා තියෙන්න බෑ. සඤ්ඤා නැතිකරලත් නෑ එයා. ඔක්කෝම සඤ්ඤා ටික නෑ කියන්නත් බෑ එයාට. එහෙමත් නෙවෙයි.

එතනින් කියනවා මේ සඤ්ඤා ලෝකය අවබෝධ කරන මට්ටමක්. ඒ කියන්නේ පුද්ගලභාවය තුළ ඇත්ත නොකරගත්ත මට්ටමක්. සඤ්ඤාව ඇත්ත නොකරගත්ත මට්ටමක්. **සඤ්ඤාව ඇත්ත කරගත්තට පස්සේ සඤ්ඤාව ඇත්ත කරගැනීම තුළ අපිට ඇති ධර්මතාවය තමයි ලෝකේ ඇත්තවෙන ගතිය. අපි ඇත්ත කරගන්නේ හැම වෙලාවෙම සඤ්ඤාව. සඤ්ඤාවක් ඇත්ත කරගැනිමේ ලක්ෂණය තමයි ඒක රූප සඤ්ඤාවක් හෝ ශබ්ද සඤ්ඤාවක් හෝ ගන්ධ සඤ්ඤාවක් හෝ රස සඤ්ඤාවක් වෙන එක. රූපය පැත්තෙන් ආපු දෙයක්, ශබ්දය පැත්තෙන් ආපු දෙයක්, ගන්ධය පැත්තෙන් ආපු දෙයක්, රසය පැත්තෙන් ආපු දෙයක්. අපිට සඤ්ඤාවේ සඤ්ඤාබව හම්බවෙන්නේ නෑ.**

**කෙලින්ම එක්කෝ රූපය පැත්තට යනවා, එක්කෝ නාම ධර්මතා ටික පැත්තට යනවා. හිතට හිතවත් හසුවෙන්නේ නැතිනැතක් ගැනයි මේ කතාකරන්නේ.**

**අසඤ්ඤ සත්ත්වයාගෙත්, විභූත සඤ්ඤී සත්ත්වයාගෙත් ලක්ෂණය තමයි හිතට හිත හසුවෙලා. ඒ කියන්නේ එයා එයාගේ ලක්ෂණය දකින්නේ නෑ. අසඤ්ඤ සඤ්ඤාව වඩන කෙනාට සඤ්ඤාවක් නෑ කියන සඤ්ඤාවයි එයාට පවතින්නේ. සඤ්ඤාවක් නෑ කියලා දැනගන්න එක ද සඤ්ඤාවක්. සඤ්ඤාවක් නැතිබව සඤ්ඤාව තමන් වෙන කොට ඒ සඤ්ඤාවෙන් තොරව එයාට දෙයක් හම්බවෙන්නේ නෑ. තමන්වෙන සඤ්ඤාව දකින්න පුළුවන් වෙන සඤ්ඤාවක් නෑ.**

ඒ වගේම සඤ්ඤා නිරෝධයයි, නිරෝධ සඤ්ඤාවයි කියන්නේ ධර්මතා දෙකක්. නිරෝධ සඤ්ඤාව කියන කොට අසඤ්ඤ මට්ටමක්. මේ නිරෝධ සඤ්ඤාව. නිරොධ සඤ්ඤාව (නිරොධ සමාපත්තියට) සමවදින එකයි අසඤ්ඤ සත්ත්වයෙකුයි අතර පොඩි වෙනසයි තියෙන්නේ. කිසිමම සඤ්ඤාවක් වේදනාවක් නෑ. සඤ්ඤා නිරෝධයයි, නිරෝධ සඤ්ඤාවයි දෙකක් කියන්නේ, නිරෝධ සඤ්ඤාවේ ලක්ෂණය තමයි අපි ඔය ඵල මට්ටමින් කතාකරන නිරෝධය අවබෝධ කරගන්න එක, ඒක සඤ්ඤාවක්. ඒක නිරෝධ සඤ්ඤාව. ඒක හරි. මේ සඤ්ඤා නිරෝධය. නිරෝධ සඤ්ඤාව සමාපත්තිය. සඤ්ඤා නිරෝධය ඵලය. එතෙකාට සරලව තෙරුම් ගන්න සඤ්ඤා නිරෝධය, ඵලය. නිරෝධ සඤ්ඤාව, සමාපත්තිය.

නිරෝධ සඤ්ඤාවට සමවැදුනු කෙනාගේ ලක්ෂණය තමයි නැවත සඤ්ඤාවක් නොහටගන්න බව. එකම සඤ්ඤාවයි

පවතින්නේ, නිරෝධය. නිරෝධය අවබෝධ කරගන්න එක සඤ්ඤාවක්. ඒ සඤ්ඤාව නිරෝධය දකින බව, මොකුත් නැති බවට ගෙනල්ලා, එයා ඒ තුළ සමවැදිලා. ඒකයි ඒක අසඤ්ඤ මට්ටමට ගන්නේ. සඤ්ඤාවක් නෑ එතන. මොකද නිරෝධය අවබෝධ කරගන්න, කිසිවක් නැති මට්ටම අවබෝධ කරගන්න සඤ්ඤාවම නිරෝධ සඤ්ඤාවක් වෙනකොට ඒ සඤ්ඤාව තුළ ද කිසිවක් හම්බවෙන්නේ නෑ, එයාට දෙයක් නෑ. එතකොට ඒක සමාපත්තියක්. ඒකට සමවැදිලා. ඒක සඤ්ඤා නිරෝධය නෙවෙයි නිරෝධ සඤ්ඤාව.

මේ කතාකරන්නේ සඤ්ඤා නිරෝධය ගැන. මේ ටික එකකටවත් අහුවෙන්නේ නැති තැන සඤ්ඤා නිරෝධය. **එතකොට සඤ්ඤා නිරෝධය ශාක්ෂාත් කරන්න වෙන්නේ සඤ්ඤාව පිරිසිඳ දැකීම තුළ. සඤ්ඤාව පිරිසිඳ දකිනවා කියන එක තුළ, එයාට වෙනවා සඤ්ඤාව කියන එක උදයව්‍ය පැත්තෙන් දකින්න. නිකම්ම සඤ්ඤාවක් හටගත්තේ නෑ. මේ සඤ්ඤාව කොහොමද හදලා දුන්නේ කියන එක දකින්න.** එතකොට තමයි අද අපේ මට්ටමින් අපිට තියෙන්නේ රූපයත් එක්ක ගණුදෙණු කරන මට්ටමක්. ඒක නිසයි අපිට මේ ධර්මතා ටික පිරිසිඳ දැකිය යුත්තේ.

පටිසම්භිදාමග්ගේ පළවෙනි පොතේ දිට්ඨි කතාවල තියනවා සක්කාය දිට්ඨිය ගැන කතාකරන කොටසක්. සක්කාය දිට්ඨිය පිරිසිඳ දකින්න හදන කෙනාට සහ එතනින් එහාට මාර්ගය වඩන කෙනාගේ ඒ නුවණවල් ටික ඒ දිට්ඨිය ගැන කතා කරන ටිකේ පෙන්නනවා. එතකොට මේ සක්කාය දිට්ඨිය දුරුවෙනවා කියන තැන අර තුන් සංයෝජනයෙන්ම මිදෙන්න තියෙන්නේ. සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස කියන එක.

එතකොට ඒකෙන් කතාකළේ සක්කාය දිට්ඨියයි, විචිකිච්ඡාවයි කියන දෙක ගැන ප්‍රධාන වශයෙන්ම. සිලබ්බතපරාමාසය නෙවෙයි.

මේ සඤ්ඤාව පිරිසිඳ දැකීමෙනුත් මිදෙන්න තියෙන්නේ සක්කාය දිට්ඨියයි, විචිකිච්ඡාවයි කියන තැන. සක්කාය දිට්ඨිය, සඤ්ඤාව තුළ ඇතිකරලා තියන දේ. **සක්කාය දිට්ඨිය, සඤ්ඤාව තුළ ඇතිකරලා තියෙන්නේ ඇයි? මේ සඤ්ඤාව නිධාන කරගෙනයි හේතු කරගෙනයි ප්‍රපඤ්ච සඤ්ඤාව (තණ්හා, මාන, දිට්ඨි) පැලවෙන්නේ.** සඤ්ඤාව ඇත්ත වෙලයි හැම වෙලාවෙම ප්‍රපඤ්චය තියෙන්නේ. සඤ්ඤාව නැමැති බීජයෙන් හැදෙන්නේ ප්‍රපඤ්ච නැමැති ගහ. සඤ්ඤාවට ප්‍රපඤ්ච සඤ්ඤාව පතිත කරනවා. සඤ්ඤාව ගන්නේ තණ්හා, මාන, දිට්ඨි වශයෙන්. එතකොට සඤ්ඤාව වටේට තවරන අයිසින් තට්ටුව, චොකලට් තට්ටුව තමයි මේ තණ්හා, මාන, දිට්ඨි ටික. මේක තමයි නිධානය. නිධානය කියන්නේ වහලා, රැකලා තියෙන දේ. නිධානය තමයි සඤ්ඤාව. සඤ්ඤාව වටේට තවරලා තියෙන්නේ තණ්හා, මාන, දිට්ඨි ටික. මොකද්ද සඤ්ඤා? අද අපිට තියන මේ සඤ්ඤා ඔක්කොම ටික අයිතියි. මේ හය ආකාර සඤ්ඤා ටිකම අයිති මෙතනට. මේ සඤ්ඤා හයම ඇත්ත වෙලා තියනවා අපිට. තමාගෙන් තොර සඤ්ඤා හයක් මේ තියෙන්නේ. හොඳට මේකේ ලක්ෂණය ගන්න. තමන්ගෙන් තොර සඤ්ඤා හයක්. මට තියනවා රූප සඤ්ඤා, මට තියනවා ශබ්ද සඤ්ඤා, ගන්ධ සඤ්ඤා, රස සඤ්ඤා, ඵොට්ඨබ්බ සඤ්ඤා, ධම්ම සඤ්ඤා. මට පුළුවන් හිතන්න. හිත ගැන හිතන්න පුළුවන්. මම

මෙහෙම හිතුවා, මෙහෙම කළා කියලා හිත ගැන හිතන්න පුළුවන්. මේ ධම්ම සඤ්ඤාවත් සඤ්ඤාවක්.

එකයි විදර්ශනා කරන කොට හරි පරිස්සම් වෙන්න ඕනේ කියන්නේ. විදර්ශනා කරන කොට අපි හිත දිහා බලන් ඉන්න පුරුදු වෙනවා. හිතේ පැත්තක ඉඳලා රූප ඇතිවෙලා නැතිවෙනවා බලන් ඉන්නවා අපේ හිත දිහා. තමන් බලනවා තමන්ගේ සිත දිහා. බලන්නා ඉන්නවා. මට රූපේ පෙනෙන තැනක තියෙන්නේ මෙහෙම ඇත්තක්. දැන් හිතේ ධර්මතා ටිකක් බලනවා. වේදනා, සඤ්ඤා, සංකාර කියලා හිතේ තියෙන්නේ මේ වගේ ඇත්තක් කියලා කඩ කඩා පෙන්නනවා. දැන් කවුද බලන්නේ? තමන් බලනවා මේ හිතේ තියන ලක්ෂණ ටික. රූපේ පේන තැන තියන ලක්ෂණ ටික. දැන් මොකද්ද මේ ඇත්ත වුණ සඤ්ඤාව? ධම්ම සඤ්ඤාව. එතකොට ඒ සඤ්ඤාව කිව්වේ මුලින්ම කතාකරපු සඤ්ඤාව. *න සඤ්ඤසඤ්ඤී*, එහෙම ඉන්න බෑ අපිට. සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් නෙවෙයි වෙන්න යන්නේ. ප්‍රකෘර්ති සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් වෙන්න බෑ.

ඒකයි අපි පසුගිය දවස් ටිකෙත් නැවත නැවත මතක් කළේ මේ සඤ්ඤාවෙන් සඤ්ඤාව ඇත්තෙක් වෙන මට්ටම නෙවෙයි. මේ ඒ ඒ තැන නුවණක් කතාකරන්නේ. ආලෝකවත් වූ කාමරයටමයි ගියේ. කාමරයට යනකොට සියල්ලම ආලෝකවත්, ආලෝකමත් වූ කාමරයෙන් සියල්ලම පෙනෙනවා එතකොට. පෙනෙන බව තියෙන්නේ ආලෝකමත් බව නිසා. **එතකොට සඤ්ඤාව කියන තැන තමන්ට ඇත්තම පේනවා. හැබැයි ඒ සඤ්ඤාවෙන් තොරව තමන්වත් තමන්ගෙන් තොරව සඤ්ඤාවවත් කිසිම විටක හම්බවෙන්නේ නෑ.** අපිට අද

තමන්ගෙන් තොරවයි රූප සඤ්ඤාව වෙනමම තමන්ට හම්බවෙනවා රූපය. ඒක වෙනම රූප සඤ්ඤාව. තමන්ට හම්බවෙනවා ශබ්දය. ඒක ශබ්ද සඤ්ඤාව. තමන්ට හම්බවෙනවා ගන්ධය. දැන් මේ සඤ්ඤා ටික වෙන වෙනම බෙදන්නේ තමන්ට සාපේක්ෂව, තමන්ට සාධාරණව. මම මෙතන ඉන්නවා මට සාපේක්ෂව තමයි මේ සඤ්ඤා ටික තියෙන්නේ. මේ බාහිර සඤ්ඤා ටික තමන්ට සාපේක්ෂව හදපු තැනයි වෙනස් වෙන්න ඕනේ.

අපි මී මැස්සන් පිරුණු මී වදයක් ගතහොත් මේ බාහිර සඤ්ඤා ටිකයි මී මැස්සෝ ටික. තමන් කියන තැනයි මී වදය. නැතිනම් මෙතනයි නියමම සඤ්ඤාව. අර ටික ඔක්කෝම ප්‍රපඤ්ච. තණ්හා, **මාන, දිට්ඨි ටිකෙන් ගෙනාපු ටික තමයි රූප සඤ්ඤා, ශබ්ද සඤ්ඤා, ගන්ධ සඤ්ඤා, රස සඤ්ඤා, ඵොට්ඨබ්බ සඤ්ඤා, ධම්ම සඤ්ඤා කළේ මොකෙන්ද? තණ්හා, මාන, දිට්ඨි ටිකෙන් ඒ ටික නියෝජනය කළේ. ඇත්තටම තිබුණු යථාර්ථය මොකද්ද? ප්‍රකෘර්ති සඤ්ඤාව තමන්. ඒ කියන්නේ සඤ්ඤාවෙන් තොර තමන්වත්, තමන්ගෙන් තොර සඤ්ඤාවත් කිසිම විටක හම්බවෙන්නේ නැති මට්ටමකට නිවැරදි කර ගන්න වෙනවා. එතකොට එයාට සඤ්ඤාවෙන් තොරව තමන් හම්බවෙන්නේ නෑ. තමන්ගෙන් තොරව කිසිමවිටක සඤ්ඤාවක් හම්බවෙන්නේත් නෑ. ඒ මොහොතට හටගෙන නිරුද්ධ වෙනකොට තමන් කියනබවම ඉපිද නිරුද්ධවෙනබව ඒ ඒ මොහොතට එයාට නුවණයි. එයාට රූපය කවදාවත් බාහිර පැත්තෙන් හම්බවෙන්නේ නෑ.** අර වේදනාව කතාකරපු පරියාය වගේම දැන් හම්බවෙන්නේ සඤ්ඤා මට්ටමෙන්.

**අපි ඇසුරුකරන්නේ හිතේම පවතින ප්‍රපඤ්ච සඤ්ඤාව මිසක වෙනත් දෙයක් නෙවෙයි. තණ්හා, මාන, දිට්ඨි කියන මේ කෙලෙස් ටික කියන මේ තැවරුම තවරන්නේ පුද්ගලභාවය වුණ එකම සඤ්ඤාවට.** කේක් එකකක් සම්පූර්ණයෙන් වැහන්නන එක එක පාටින් අයිසින් කරලා තියනවා කියලා හිතමු. එක එක පාටට අයිසින් තැවරුවට පස්සේ අපිට පේනවා අයිසින් කේක් එකකක්, ඒවගේ රූපය පෙන්නවා පුද්ගලයා විදිහට. **හිතේ හදාගත්ත තමන්ව හීනෙකින්වත් දකින්නේ නෑ. තමන්ව නොදකිනකොට තමන්ව පේනවා එළියේ තියන දේ හැටියට, තමන්ව හඳුනන්නේ එළියේ තියන දේ හැටියට එළියේ තියන දෙයට වන හානිය තමන්ට වන හානියක් වගේ. අපි ඔරලෝසුව බලන්නේ ඇත්තටම තමන් ඉන්න තැනක. ඔරලෝසුව හම්බවෙන්නේ තමන් තමන්වෙන තැනක. වෙලාව බලන්න ඔරලෝසුව දිහා බැලීමෙන් තමන්ව ජනිතවූ ආකාරය වැසෙනවා නමුත් බාහිර දෙයක් ගැන තමා කතාකරන්න වෙන්නේ. මොකද අපි හිතේ හදාගත්ත තමන් කියනබව දකින්නේ බාහිරෙන්. බාහිරේ ඇත්ත වෙලා ඇත්ත වුණ බාහිරේට අනුව හදාගන්නේ තමන්. එතකොට හැම වෙලාවකදිම එළියේ මේ තමන් වුණ වස්තුව තියනවා. දැන් පේන්නේ වස්තුව මිසක තමන්ව නෙවෙයි.**

දැන් අපිට පේන්නේ අයිසින් ගාපු රතුපාට කේක් කෑල්ලක්. කේක් ඒකේ ස්වභාවය ඇත්තටම සුදු නමුත් පේන්නේ රතු පාට කේක් කෑල්ලක්, පේන්නේ කොළපාට කේක් කෑල්ලක්. පේන්නේ නිල්පාට කේක් කෑල්ලක්. අයිසින් තට්ටුවේ පාට කියන එක අපිට පේන්නේ නෑ. අපිට වෙනම පාට අයිසින් හඳුනාගන්න සමත් නෑ, අපිට පේන්නේම කේක් කෑල්ලෙම පාට කියලා. අපිට පේන්නේ

පුද්ගලයාගෙන් තොර වුණ තමන්ගෙන් තොර වුණ ස්වාදීනව බාහිර රූපය ඇති බවට. දරුවා ඇත්ත වෙලා, ඔරලෝසුව ඇත්ත වෙලා. මිනීපෙට්ටිය ඇත්ත වෙලා. කෝප්පය ඇත්ත වෙලා. දැන් අපිට පේන්නේ නෑ අපි මේ සඤ්ඤාවටයි ව්‍යවහාර කරන්නේ කෝප්පය කියලා. කෝප්පය කියන සඤ්ඤාවකුයි ඇත්තටම පැවතුනේ. සඤ්ඤාව වටේට මේ රූප සඤ්ඤාවක් තියලා බැඳලා තණ්හා, මාන, දිට්ඨියෙන්. **තණ්හාවේ ලක්ෂණය තමන් නොදකින කම, තමන් තමන්ට ඇලෙන ගතිය. අපි ඇලුනේ කෝප්පයට නෙවෙයි තමන් තමන්ට. කෝප්පයට ඇලුනා නම් කෝප්ප විපාකයක් හම්බවෙන්න ඕනේ. තමන්ට විපාකය හම්බවෙන්න බෑ. නමුත් තණ්හාවේ විපාකය කොහෙටද එන්නේ? තමන්ට. තමන්වයි ආපසු හදන්නේ මෙහෙ ආයතන ටික මිසක කෝප්ප හදන්නේ නෑ මේ තණ්හාවෙන්**. කැමති දේ එපැයි කැමති දේ හදන්න. තණ්හාව තියන දේයි අපි හදන්නේ. තණ්හාව බාහිර කෝප්පයට නෙවෙයි. කෝප්පය කියලා රැවටුන තමන්ටයි තණ්හාව. ඒකයි තමන් හදාගන්නේ. **කෝප්පය විඳින්න පුළුවන් විදිහටයි ආපසු තමන් හදාගන්නේ**. මොකද විඳින්නේ තමන් නිසා. එතකොට තමන්ව විඳින එක එයා දකින්නේ එළියේ කෝප්පය විඳින බවට. සඤ්ඤාව තවරනවා රූපය පැත්තෙන් තියලා පින්තාරු කරනවා. ඊට පස්සේ ශබ්දය පැත්තෙන් තියලා පින්තාරු කරනවා. ඇත්තටම මේ එකම සඤ්ඤා මට්ටම, **සඤ්ඤාව සඤ්ඤාව හැටියට නොදන්නාකම නිසා සඤ්ඤාව හම්බවෙනවා රූපය හැටියට. සඤ්ඤාව හම්බවෙනවා ශබ්දය හැටියට. සඤ්ඤාව හම්බවෙනවා ගන්ධය, රසය, ඵොට්ඨබ්බය හැටියට**. මම බලපු

නිසා වස්තුව දැක්කා කියලා තේරෙනවා නමුත් දැකපුනිසා මම ඇති උනා පෙනෙන්නේ නෑ, ඒකයි මතුවෙන ප්‍රශ්නය. මේනිසා බාහිරින් ජනිත වෙනවා ලෙස දකින දේවල් වගේම සිද්දවන කාරනා නිසා තිබෙන ස්වභාවය වෙනස් වනවිට, විනාස වනවිට, අන්සතු වන විට, විකුර්ති වන විට, චන්දරාගයෙන් ඇලුනහොත් අඬන්න, දුක් වෙන්න, සෝක කරන්න, භය වෙන්න සිද්දවන්නේ මටයි. අලාභ නින්දා දුක අයස  මම ලාභ, ප්‍රසංසා, සැප, යස ඉදිරියේ උද්දාමයට පත්වන **මම** අලාභ, නින්දා, දුක, අයස ඉදිරියේ ශෝක කරන්නත් අවසානයක් නොමැතිව ඒ මටම සිද්ධ  වීමම මෙහි ඇති භායානක කමයි.

පසුගිය කාලයේ දහම් සාකච්ඡා සඳහා යොදාගත් සටහනින් ඔය කාරණාව වඩාත් හොදින් පැහදිලි කරගන්න පුළුවන්. (මෙම සටහන අවසාන පිටුවේ දක්වා ඇත.) ඒ සටහනේ  විපාක කියපු තැන තිබුණා මොකද්ද? ඇස, රූප, ස්පර්ශයෙන් පස්සේ තිබුණා වේදනා, සඤ්ඤා කියන ටිකක්. දැන් මේ සඤ්ඤාවේ ලක්ෂණය තමයි විඤ්ඤාණයෙන් දැනගත්තේ. ඒ කියන්නේ සඤ්ඤාවෙන් තොර දෙයක් විඤ්ඤාණය දැනගත්තේ නෑ. සඤ්ඤාව දැනගත්තේ. සඤ්ඤාව දැක්කේ, සංස්කරණය කළේ මොකක් හැටියට  ද? රූපේ තියන දේ හැටියට. එතකොට දැන් මේ සඤ්ඤාවයි දැනගත්තේ රූපය හැටියට එයා. **සඤ්ඤාවේ ලක්ෂණය හැම  වෙලාවෙම අනාත්මබවක තිබුණේ. අනාත්ම සඤ්ඤාව, ඒ කියන්නේ තමන් වූ ස්වභාවය රැස්කරගත්තේ තමන් නොවෙන තැනකට. තමන් තමන්ව වින්දේ එළියේ තියන දේ කියලා හිතලා. එතකොට එළියේ තියන දේ විඳින අපිට ඒක වෙනම සඤ්ඤාවක්. ඒක මනසින් තමන්ව හදාගත්ත ප්‍රපඤ්ච**

**සඤ්ඤාව එකතු කරලා හදාගත්ත දේ.** අතන පළවෙනි සඤ්ඤාව ඇස, රූප, චක්ඛු විඤ්ඤාණය, ස්පර්ශයට පස්සේ තියන සඤ්ඤාව තාම අයිසින් දාලා නැති කේක් කෑල්ල. ඒක නිධානය. කේක් කෑල්ල තිබ්බොත් එපැයි අයිසින් දාන්න. ඒක නිධාන කරගෙන ඊට පස්සේ අයිසින් දානවා. අයිසින් ටිකේ ලක්ෂණය තමයි තණ්හා, මාන, දිට්ඨි වශයෙන් ඇසුරු කරනවා තමන්ගේ තියන දර්ශනයෙන් තමයි පෙන්නන්නේ එළියේ තියන දේ. රූපය. ඔන්න එකපාටින් සඤ්ඤාවට බැන්දා. තව පාටකින් සඤ්ඤාවට බැන්දා.

එකම තැනකින් අල්ලගන්න තියෙන්නේ ස්පර්ශය සහ සඤ්ඤාව කියන තැන් දෙක. ඒකයි ස්පර්ශ නිරෝධයත් සඤ්ඤා නිරෝධයත් පනවන්නේ. නිරෝධ සඤ්ඤාවයි, සඤ්ඤා නිරෝධයයි කියන තැන පනවන්නේ ඒකයි. එක්කෝ ස්පර්ශ නිරෝධයෙන් කතාකරනවා. එක්කෝ සඤ්ඤා නිරෝධයෙන් කතාකරනවා. දෙකම එකම තැන. **ස්පර්ශ නිරෝධය කියන්නේ ස්පර්ශ ආයතන හයම නැතිබවට ගිහිල්ලා, නොහටගන්න බවට ගිහිල්ලා. ස්පර්ශයට ඇස තිබුණෙත් නෑ. ස්පර්ශයට කන තිබුණෙත් නෑ. ස්පර්ශයට දිව තිබුණෙත් නෑ. ස්පර්ශය කොහෙ ඇතිවුණ දෙයක් ද? මනසේ.** *තස්මිං සමයෙ ඵස්සො හොති,* එකල්හි ස්පර්ශය වේ කියලා පෙන්නන්නේ. හිතට ඇතිවුණේ ස්පර්ශය නේ. හිතේ ස්පර්ශයට ආයතන තිබුණේ නෑ. හිතේ ගැටුණේ නාම ධර්මතා ටික. ඒකට ආයතන ගැටුණේ නෑ. ඇසට ස්පර්ශ වෙන ස්පර්ශයට ඇස අයිති නෑ. ස්පර්ශය කියන දේ ඇසට අයිති දේ නෙවෙයි. ස්පර්ශය කියන දේ රූපයට අයිතිත් නෑ.

ස්පර්ශය කියන දේ චක්ඛු විඤ්ඤාණයට අයිතිත් නෑ. ස්පර්ශය කියන දේ මේ තුන් දෙනාමට අයිති නෑ.

ලිප් ගල් තුනක් උඩ තියපු මුට්ටිය එක ගලකටවත් අයිති නෑ. ගල් තුනටම අයිතිත් නෑ. ඒක වෙනම දෙයක්. ගල් තුනෙන් වෙන්වෙච්ච දෙයක් ස්පර්ශය කියන්නේ මේ තුනමත් නෙවෙයි තුනෙන් එකකුත් නෙවෙයි. **එතකොට ස්පර්ශ නිරෝධය පනවන්නේ දැන් මේ ස්පර්ශය ඇසට අයිතිත් නොවෙන කොට, රූපයට අයිතිත් නොවෙන කොට, ශබ්දයට අයිතිත් නොවෙනකොට, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන මේ ටිකට අයිති නොවෙන කොට ස්පර්ශයට අයිති කාරයෙක් නෑ. අයිතිකාරයෙක් නොවෙන ස්පර්ශයක් පනවන්න පුළුවන් ද? එතනින් ස්පර්ශ නිරෝධය පනවන්නේ. ස්පර්ශය නිරුද්ධයි ඉතුරුනැතුවම ඇයි, ඇස රූප, චක්ඛු විඤ්ඤාණ කියන ටික ඉතුරු නැතුව නිරුද්ධ වෙනකොට මෙකෙන් හදාගත්ත මේ දේ අයිතිකාරයෙක් පෙන්නන්න බෑ මේ ස්පර්ශයට. මොකද එකම ස්පර්ශය. මනෝ විඤ්ඤාණ ධාතු සම්ඵස්සය පැත්තෙන් කතාකළේ**. හිතට ඇතිවුණ ස්පර්ශය. හිතේ ස්පර්ශයේ ඇත්තේ නෑ රූප ස්පර්ශ, ගන්ධ ස්පර්ශ, රස ස්පර්ශ කියලා. අපිට හිතට දැනෙන්නේ එකම ස්පර්ශයයි.

එකම ස්පර්ශයට ඇතිකරගත්ත සඤ්ඤාවටයි, ස්පර්ශයටයි දාපු අයිසින් තට්ටුවෙයි වෙනස්කම තිබුණේ. රූපේ පැත්තට දාලා දාගත්ත අයිසින් තට්ටුවේ, ශබ්දය පැත්තට දාලා දාගත්ත අයිසින් තට්ටුවෙයි වෙනස්කම තිබුණේ. අයිසින් තට්ටුව හැදුවේ මනස තුළ. එතකොට මෙතන ප්‍රපඤ්ච සඤ්ඤාව නියෝජනය කළේ. ප්‍රපඤ්චය කියන එක නියෝජනය කළේ තම

තමන් තම තමන් තුළ. සඤ්ඤාව කියන එක පිරිසිදු මට්ටමක තිබුණ තැනක *සඤ්ඤා නිදානාහි ප්‍රපඤ්ච සඞ්ඛා*, සඤ්ඤාව නිධාන කරගෙන, සඤ්ඤාව හේතුව කරගෙන මේ ප්‍රපඤ්ච සඤ්ඤාව ඇතිකරගත්තා. ඒක නිකන් සඤ්ඤාව නෙවෙයි. දැන් ප්‍රපඤ්ච සඤ්ඤාවක් ඒක. **ප්‍රපඤ්ච සඤ්ඤාවේ ලක්ෂණය මොකද්ද? දෙයක්, කෙනෙක්, පුද්ගලයෙක් හැටියට හම්බවෙනවා.**

අපේ ස්වාමීන් වහන්සේගේ වැලි ගොඩේ උදාහරණය ගත්තොත්. වැලි කැට කැට රාශියක් ඇතිතැන වැලි කැට නොපෙන්නා වැලි ගොඩක් හදලා පෙන්නනවා. දැන් සඤ්ඤාවේ තියන විපරිත ලක්ෂණය. අනාත්ම සඤ්ඤාව ඇතිතැනක වැලි ගොඩක් පෙන්නනකම, කැට කැට ගොඩක් තිබුණ තැන වැලි ගොඩක් පෙන්නන එකේ ලක්ෂණය මොකද්ද? ඇසේ තිබුණ හැකියාව. ඇසේ තිබුණ හැකියාව අපි දැක්කේ රූපේ හැකියාව හැටියට. වැලි ගොඩටයි පේන්න පුළුවන් වුණේ කියලයි අපි දැක්කේ. එතකොට ඇසේ තිබුණ හැකියාවටයි රූපේ පතිත කරගත්තේ. ඒ දෙක එතනින් ඉවරවුණ තැනක හිතේ හටගත්ත සඤ්ඤාවටයි වැලි ගොඩ කියන දෙයින් වැහුවේ අපි. ඒ සඤ්ඤාව අනාත්ම සඤ්ඤාව. ඒ අනාත්ම සඤ්ඤාව ප්‍රපඤ්ච සඤ්ඤාවක් බවට පත්කරගත්තා තණ්හා, මාන, දිට්ඨි විදිහට. එතකොට තණ්හා, මාන, දිට්ඨි ටික පතිත කරගත්ත සඤ්ඤාව තමයි මේ ප්‍රපඤ්ච සඤ්ඤාව තුළ ලෝකේ ඇතිබවට ගෙනල්ලා දුන්නේ. දැන් ප්‍රපඤ්ච සඤ්ඤාවෙන් ගෙනල්ලා දුන්න ලෝකේ, එළියේ තියන දේට තමයි කැමති වෙන්නේ. නාමරූප දෙක පිරිසිඳ නොදැක නාම ධර්මතා ටිකක් ඇති තැනක රූපය නැමැති අයිසින්

තට්ටුවෙන් වහලා දැන් මෙතන දෙයක් තියනවා. ස්පර්ශ ඇතිකල්හි හදාගත්ත මේ නාම රූප නැමැති මේ දෙය කෑවොත් බොහෝම රසයි. අයිසින් තට්ටුවෙන් වර්ණවත් මේ දේ කෑවොත් හරි රසයි. ඒ නිසා අපි පුළුවන් තරම් වර්ණවත් අලංකාර රසවත් මිහිරි දෙයක් තමයි හදාගන්නේ. දන්න හොඳම ගුණත්වයෙන් ඉහලම සීනි දානවා, පිටි දානවා, බිත්තර දානවා, බටර් දානවා. පුළුවන් තරම් රසට කැමති විදිහට මේක හදාගන්නවා. **ඒ කිච්චේ නාම ධර්මතා ටික ඇතිතැනක රූපය තියලා කැමති රූප හදාගන්නවා එළියෙන්. හිතේ නාම ධර්මතා ටිකකුයි හැමවෙලාවකම විඳින්නේ. විඳින දේ රූපය තුළයි කියලා මේ රූපයටයි කැමති.** දැන් කැමති රූපයෙන් වහගන්නවා මේක. කැමති විදිහට හදාගන්නවා. කැමති මට්ටමෙන් බටර්, සීනි ආදී දේවල් එකතු කරනවා. ඊට පස්සේ දැන් හදාගත්ත දේ, මේකේ අපි විඳින්න කැමති වුණේ මේකේ රසයයි. රසය විඳින්න කැමති විදිහටයි මේ දේ පිලියල කරගත්තේ. දැන් එළියේ තියන මේ රසය වෙනස් වෙනකොට, විපරිණාම වෙනකොට, ඒකට එළියෙන් ගැටළු ඇතිවෙන කොට අන්න ලෝකේ කලහ විවාද ඇතිවෙනවා. දැන් ඒ වර්ණවත් අලංකාර මිහිරි රසයෙන් සමන්විත දේය දකින්න එපා එළියෙන් විතරක් හම්බවෙන දේ හැටියට.

තමන් ඇතිබව තුළත් ඒකම තමයි වෙලා තියෙනේ. අපි ලෝකේ පුද්ගලභාවය තුළ කටයුතු කරන විදිහ දැක්කහම ඇත්තටම පොඩි ළමයි වගේ කියලා මට හිතෙනවා ඒ මොකද වැඩිහිටියෝ වුණත් සමහර වෙලාවට පුද්ගලභාවය ඇත්ත කරගෙන කටයුතු කරන හැටි බලන් ඉන්න කොට පොඩි ළමයි

ටිකක් සිහිපත් වෙනවා. නැති දේ ඇතිහැටියට හිතාගෙන ඒ අය තර්ක විතර්ක කරගන්න ගතිය.

ඊයේ පෙරේදා දානේ ගෙදරකට වැඩියා. පුංචි ළමයි දෙන්නෙක් බණ කියන වෙලාවෙදි ඉස්සරහට වෙලා ඉන්නවා. පොඩි ටෙඩි බෙයාලා කීපදෙනෙක් අරගෙන මේ දෙන්නා සෙල්ලම් කරනවා. එක ළමයෙක් ඔක්කෝම ටික ගත්තා. දැන් අනිත් එක්කෙනාට හරි දුකයි මේ ගත්ත එකට. ඉතින් දැන් එයා තරහයි. තරහා වුණ කෙනාගේ ලක්ෂණය මොකද්ද? දැන් කතාකරන්නේ නෑ. දැන් අරයා ආපසු ළං කරනවා ගන්න අත දායි කියලා. අත පස්සට දාගෙන බිම බලාගෙන ඉන්නවා. ඊට පස්සේ තව ටිකක් එහාට යනවා. මේක දිහා බලන කොට මට හිතුණා, ඒ ළමයාගේ ජීවිතේ ඒක. එයාට තියන ලොකුම ප්‍රශ්නය මොකද්ද දැන්? ටෙඩි බෙයා නොදෙනකම. දැන් බාල බවක් නෙවෙයි ද? ටෙඩි බෙයා කියන්නේ කොච්චර සුළු දෙයක් ද? කොච්චර නොවටිනා දෙයක් ද? ඒ දේ ඇත්ත කරගත්ත, එයාගේ ජීවිතේ වස්තුව කරගත්ත, ප්‍රිය දේ කරගත්ත ඒ ළමයාට කොච්චර දුකක් ද ඒ දේ අනිත් ළමයා නොදෙනකම. අපිට හිතෙනවා මේක තමයි පොඩිකම කියන්නේ, මේක තමයි බාල කම කියන්නේ, එයාගේ නොවැඩුණුකම කියන්නේ මේක තමයි.

ලෝකේ තුළ ප්‍රිය රූපය එළියෙන් හදාගෙන තමන්ගේ මනසේ ඇත්ත නොදන්නාකම නිසා ප්‍රිය රූපයත් එක්ක රණ්ඩුවෙන කොට මේ මගේ හැටි, මම මෙහෙමයි, මේක තමයි මගේ ක්‍රමය කියලා දැන් තමන් පැත්තකට වෙලා ඉන්නවා, අර පොඩි ළමයා අයින් වෙනවා වගේ. ඒක තමයි බාල ගතිය. බාල ගතිය ඇතිකළේ මොන දේ තුළ ද? තමන් ඇත්ත කරගත්ත දේ

තුළ. තමන් ඇත්ත වෙච්ච දේට සාපේක්ෂව බාහිර අනිත් පුද්ගලයෝ ගැන තමන්ට මාන, අති මාන, මච්ඡරියස්ස, මසුරුබව මේ හැම දෙයක්ම තියනවා. මට වැඩිය එයාට තියනවා. මට වැඩිය එයා දියුණුයි. නැත්නම් නොදියුණුයි. මානය නව ආකාරයකට බෙදනවා නේ. හීන මාන, සෙය්‍ය මාන, සදිස මාන කියලා මාන තුනක් තියනවා. හීන හීන මාන, හීන සෙය්‍ය මාන, හීන සදිසි මාන, සෙය්‍ය සෙය්‍ය මාන, සෙය්‍ය හීන මාන, සෙය්‍ය සදිසි මාන, සදිසි සදිසි මාන, සදිසි හීන මාන, සදිසි සෙය්‍ය මාන කියලා මානය නව ආකාරයකට බෙදනවා. එතකොට ඔය මොන ආකාරයකට හරි මානය ඇතිවෙනවා. **එතකොට මේ මාන නවයක් තිබුණට පොදුවේ එකම ලක්ෂණයයි. මොකද්ද ලක්ෂණය? මම ඉන්නවා, ඔබ ඉන්නවා.** දැන් මට තියෙන දේ ඔයාට තියෙන්නත් පුළුවන්, නොතියෙන්නත් පුළුවන්. නෑ කිව්වත් මානය. මට තියන දේ ඔයාට තියෙනවා කිව්වත් මානය. සදිසි මානය - මට තියනවා වගේම ඔයාටත් තියනවා. මට තිබුණට ඔයාට නෑ. මම උතුම්. මම සෙය්‍ය යි. ඔයා හීනයි. මේ විදිහට කොහෙන් ගියත් මානයෙන් මිදෙන්න පුළුවන්කමක් නෑ.

ඊට පස්සේ මසුරුබව. මසුරුබව කියලා කියන්නේ අපි කැමති නෑ තව කෙනෙකුට ඒ දේ ලැබෙනවාට, අපි ඒ දේ රැස්කරගන්න කැමති. වස්තු සම්පත් තියාගෙන සතයක් වියදම් කරන්න කැමති නෑ. තියාගන්න කැමතියි.

ඊට පස්සේ කේලාම්. කේලාම් කියන කම. කේලම් කියන්නේ ඇයි? මම ඉන්නවා මට කැමති දේ නොලැබෙන එකට මම හරි අකමැතියි. ඇයි, ඒ අකමැති? තමන්ගේ තැන

රැකගන්න, දැන් පුද්ගලභාවය නේ රැකගන්නේ. තමන් මෙහෙමයි කියලා හිතාගෙන, තමන් තමන්ට කැමති, කැමති දේ රැකගන්න ඕනේ වචනයක් එයා පාවිච්චි කරනවා.
ඊට පස්සේ කලහවිවාද. දැන් රණ්ඩු වෙනවා, බැනගන්නවා. බැනලා හදන්න හරි කියලා බනිනවා. **දැන් මේ හැම තැනකදිම තියෙන්නේ මොකද්ද? පුද්ගලභාවය. ඇත්ත නොදන්නාකම. දැක්කේ නෑ හිතේ සඤ්ඤාව. නොදන්නාකම නිසා ප්‍රපඤ්ච සඤ්ඤාවක් හදාගත්තා. විඳිනවා ප්‍රපඤ්ච සඤ්ඤාව. තමන් තමන්ගේ මනස විඳිනවා නොදන්නාකම නිසා ඒක දකිනවා එළියේ තියන දේ හැටියට.** මිරිගුවෙන් මිරිගුවටත් ගිහිල්ලා. මේ බාලම ගතියක්.

ලෝකේ තුළ ජාති, ආගම්, කුල මේ හැම බෙදීමක්ම මේ කලහ විවාදයන්ට හේතුව සඤ්ඤාව අයිසින් වලින් වහනකම. ඒකයි අපිට අකමැති පුද්ගලයෝ ලෝකෙන් හම්බවෙන්නේ. කැමති පුද්ගලයෝ ලෝකේ හම්බවෙන්නේ. ප්‍රිය වස්තු, අප්‍රිය වස්තු මේ හැමදෙයක්ම මේ අයිසින් ටිකෙන් වහනකම නිසා හම්බවෙන්නේ. **පවතින එකම තැන එකම යථාර්ථයයි, එකම සඤ්ඤාවයි. ඒ සඤ්ඤාව තමයි ඒ මොහොතට තමන්. කෙනෙකුට අකමැතියි කියලා අකමැති බව සිහිපත්කරන ඒ කෙනයි ඒ වෙලාවට තමන්. මම කැමති නෑ අහවල් පුද්ගලයාට කියලා අකමැති පුද්ගලයෙක් සිහිපත් කරනවා සිහිපත් කරන ගතිය තුළ පුද්ගල සඤ්ඤාව තමන්. තමන්ගෙන් තොර ඒ පුද්ගල සඤ්ඤාව දකින්න එපා. ඒ සඤ්ඤාව ගැනයි මේ කතාකරන්නේ. රූපය නිරෝධ කරන සඤ්ඤාව, රූපය හටනොගන්න සඤ්ඤාව ගැන**

**මේ කතාකරන්නේ. තමන් තමන් ගැන නුවණයි.** බාහිර අනාත්ම වර්ණ සටහන අරඹයා හිතට නිමිත්ත එනකොට හිතේ කැමති පුද්ගල රූපය, හිතේ අකමැති පුද්ගල රූපය හදාගන්න වෙලාවට ඒ මොහොතට තමන්. තමන් මොන විදිහේ සඤ්ඤාවක් ද සිහිපත් කරගන්නේ තමන්ගෙන් තොරව ඒ සඤ්ඤාව දකින්න එපා. තමන්ව නියෝජනය කරන්නේ ඒ සඤ්ඤාව හැම වෙලාවකදිම. ඒ සඤ්ඤාවෙන් තමන්ව උපද්දලා තියෙන්නේ. ඒ සඤ්ඤාවයි තමන්. තමන්ගෙන් තොරව ඒ සඤ්ඤාව පැවතුණේ නෑ. ඒ සඤ්ඤාව ඇතිවෙන වෙලාවට තවත් සඤ්ඤා තිබුණ ද? තව රූප තිබුණ ද? කිසිමම දෙයක් තිබුණේ නෑ. සඤ්ඤාව විතරමයි තිබුණේ. එතකොට ඒක නෙවෙයි ද පුද්ගලයා? ඒකමයි පුද්ගලභාවය. එතනින් එහාට දෙයක් තිබුණේ නෑ. ඒ පුද්ගලභාවය, තමන්ගේ වටේටයි අයිසින් තට්ටුව ගැහුවේ. මොකද්ද? අකමැති පුද්ගලයෙක් ඉන්නවා. ගැටෙන්න කෙනෙක් ඉන්නවා. මේ අසවල් කෙනා මට පේන්න බෑ. දේශපාලන චරිතයක් නිකමට ගන්න. මේ අසවල් මනුස්සයා පේන්න බෑ, කියලා අපි පුද්ගලයාට අකමැති, පුද්ගලයා ගැන කතාකරනවා. කතාකරලා තියෙන්නේ තමන් තමන්ගේ මනසේ ලක්ෂණය. මේ සඤ්ඤාව ගැනයි මේ කතාකරලා තියෙන්නේ. පුද්ගලයා එළියේ දකිනවා කියලා මේ අයිසින් තට්ටුව කැටයම් කරලා තියනවා. හැඩතලත් කතාකරයි, ඔය මනුස්සයාගේ හැටි මෙහෙමයි, මෙහෙමයි අඳින්නේ, අයිසින් තට්ටුව තව ලස්සනට කැටයම් කරනවා. පුද්ගලයා විතරක් නෙවෙයි. නිකම්ම අයිසින් වලින් වැහුවේ නෑ. අයිසින් ටික ලස්සනට කැටයම් කළා. හිතේ ඇති ලක්ෂණයට රූප සඤ්ඤා හොඳට තියලා බැන්දා.

**එකම සඤ්ඤාවයි ඇතිවුණේ. එකම සඤ්ඤාවයි පැවතුණේ. මනෝ විඤ්ඤාණ පැත්තෙන් හදාගත්ත මේ සඤ්ඤා මාත්‍රය විතරමයි පැවතුණේ. ඒ සඤ්ඤාවට රූප තිබුණේ නෑ. ඒකයි අපරියාපන්න භූමිය විස්තර කරන කොට විස්තර කරන්නේ ස්කන්ධ හතරකින්. වේදනා, සඤ්ඤා, සංකාර, විඤ්ඤාණ කියන ස්කන්ධ හතරක පැවැත්මක්. රූපය පෙන්නන්නේ නෑ ඒ ස්කන්ධයට. ඇයි? ඒ නුවණට කවදාවත් මේ හදාගත්ත සඤ්ඤාව රූපය ඇසුරු කරගත්ත සඤ්ඤාව නෙවෙයි. ඒ රූප සඤ්ඤාව නිරුද්ධයි. ඒකයි සඤ්ඤා නිරෝධය කියලා කියන්නේ. ඒ රූප සඤ්ඤාව ඉතුරු නැතුව නිරුද්ධයි.**

රූප සඤ්ඤාව දස ආකාරයකට පෙන්නන්න පුළුවන් නේ, ආයතන පහට ඇස, කන, දිව, නාසය, ශරීරය කියන ආයතන පහට සඤ්ඤා පහයි. එතකොට මේ ඇස ගැනයි රූපය පැත්තෙනුයි දහයක් තියනවා. එතකොට මේ සඤ්ඤා ටික ඔක්කෝම නිරුද්ධයි. රූපය පැත්තෙන් ඇතිවෙන සඤ්ඤා ටික ඔක්කෝම නිරුද්ධයි.

**නාම ධර්මතා පැත්තෙන් හදාගන්න සඤ්ඤා දෙකත් නිරුද්ධයි. ඒ සඤ්ඤා දෙක නිරුද්ධයි කියන්නේ ඇයි?** හැම **වෙලාවකදිම නිරෝධය ශාක්ෂාත් කරන බව. ඒක ද ඇති බවට නෙවෙයි ගෙනල්ලා දෙන්නේ. එයා තුළ එයාට එළියයි, එයා තුළ එයා දන්නවා ඒ සඤ්ඤාව ඉපිද නිරුද්ධ වෙන** බව.

තමන්ට වටාපත කියලා සිහිපත් වෙන කොට වටාපතෙන් තොර තමන්වත්, තමන්ගෙන් තොර වටාපතත් දකින්න එපා. හැම වෙලාවදිම තමන් තමයි වටාපත. ඇයි, **වටාපත කියලා එළියෙන්**

**හම්බවෙන තැන දකින්න ප්‍රපඤ්ච සඤ්ඤාව.** මොකද්ද ප්‍රපඤ්ච සඤ්ඤාව? වටාපත කියන එකේ මේ රූප සඤ්ඤාව කියන මට්ටමෙන් හිතට දැනෙන හිතේ ඇතිවෙන මේ වටාපත කියන රූපයට තියලා බැන්දා. පැහැසටහන ඉතුරු නැතුව නිරුද්ධ වුණ තැන ඇස රූප ප්‍රත්‍යයෙන් හදපු ඒ අයිසින් ටික තියලා බැන්දා මේ සඤ්ඤාවට. එතකොට මේ සඤ්ඤාව අපිට හම්බවුණා රූප සඤ්ඤාව විදිහට. *න සඤ්ඤසඤ්ඤී*, මේ සාමාන්‍ය සඤ්ඤාවෙන් සඤ්ඤා ඇත්තෙක් නෙවෙයි ඒ කෙනා. මේ සඤ්ඤාව නෑ එයාට. සාමාන්‍ය ලෝකයා ඇතිකරගන්න රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම සඤ්ඤා එයාට නෑ.

*න විසඤ්ඤසඤ්ඤී*, ලෝකේ තියන විදිහට සඤ්ඤාව තියනවා. තියන සඤ්ඤාව විසඤ්ඤ කරගෙනත් නෑ එයා. විසඤ්ඤී වෙන බවේ ලක්ෂණය මොකද්ද? තියන සඤ්ඤාව විසඤ්ඤ කරගන්නවා. රූප සඤ්ඤා, ගන්ධ සඤ්ඤා, රස සඤ්ඤා තියනවා ඒ ටික විසඤ්ඤ කරගන්නවා. එක්කෝ සිහි මුලා වෙනවා. එහෙම නැත්නම් නිර්වින්දනය කරනවා. සිහිය නැතිබවට පත්කරනවා. එතකොට ඒ ද මිදීමක් නෑ.

ඊට පස්සේ *නොපි අසඤ්ඤී*. අසඤ්ඤ පුද්ගලයෙකුත් නෙවෙයි. ඒ කියන්නේ අසඤ්ඤ ධ්‍යාන තලයකට පත්වෙච්ච, සඤ්ඤා වේදනා දෙක දුරුකරන්න හදපු කෙනෙකුත් නෙවෙයි. මේ සඤ්ඤාවක් නෑ කියන්න යනවා නෙවෙයි කියන්නේ ඒකයි. සඤ්ඤා නෑ කියන කෙනා මොන ගොඩටද වැටෙන්නේ? අසඤ්ඤ මට්ටමක් වඩන්න යන්නේ.

ඊට පස්සේ *න විභූත සඤ්ඤී*. සඤ්ඤාවක් තියනවා. තියන සඤ්ඤාව ඇත්ත කරගෙන ඒක ජීවිතේ කරගත්ත බවක් නෙවෙයි

මේ කතාකරන්නේ. ආකාසඤ්ඤායතනයේ ලක්ෂණය මොකද්ද? අකාසය අනන්තයි කියලා දකින එක සඤ්ඤාවක්, ඒ සඤ්ඤාව ජීවිතේ කරගෙන. එයාගේ ජීවිතේ ඒ සඤ්ඤාව. රූපය නෑ එයාට. ඒකයි අරූප කියලා කියන්නේ. එයා සඤ්ඤා ලෝකේ ජීවත් වෙන්නේ. ආකාසය අනන්තයි කියන සඤ්ඤාව ඇත්ත. ඒ සඤ්ඤාව තමන්. අනිත් රූප එකක්වත් නෑ එයාට. හැබැයි ආකාසය අනන්තයි කියලා ගත්ත සඤ්ඤාව නැතිවෙලා නෑ. ඒ සඤ්ඤාව තමන් වෙලා. ඒක ඇත්ත. ඒ මට්ටමට ගිහිල්ලා නෑ. ඒ මට්ටමට නොගිය කෙනා *එවංසමෙතස්ස විභොති රූපං*, අන්න ඒ කෙනාට රූපය ඉක්මවන්න පුළුවන්කම තියනවා.

*සඤ්ඤා නිදානානි ප්‍රපඤ්ච සඞ්ඛා*, සඤ්ඤාව නිධාන කර ගෙනයි ප්‍රපඤ්ච සඤ්ඤාව තියෙන්නේ. එතකොට මේ ටිකේ ලක්ෂණය හැම වෙලාවකදිම සඤ්ඤා නිරෝධය නැතුව, අසඤ්ඤ සත්ත්වයාගේ මට්ටමත් නැතුව ප්‍රපඤ්ච සඤ්ඤාවෙන් ඇසුරුකරන ලක්ෂණ ටික. නිරෝධ සමාපත්තියේ ප්‍රපඤ්ච සඤ්ඤාව නෑ. මොකද ප්‍රපඤ්ච සඤ්ඤාව නැති නිසාමයි නිරෝධය කිව්වේ. ඒ කියන්නේ නිරෝධ සඤ්ඤාවයි, සඤ්ඤා නිරෝධයයි කියලා දෙකක් තියනවා. සඤ්ඤා නිරෝධයේ ලක්ෂණය තමයි අපි ඔය කතාකරගෙන ආවේ.

**සඤ්ඤා නිරෝධයේ ලක්ෂණය මොකද්ද? වටාපත හම්බවෙන තැනක තමන්ගෙන් තොරව වටාපතත්, වටාපතෙන් තොරව තමනුත් නෑ කියලා කියන්නේ සඤ්ඤාවෙන් තොර වටාපතත්, වටාපතෙන් තොර සඤ්ඤාවත් නෑ. එයාට තේරෙනවා සඤ්ඤාවටමයි මේ වටාපත කිව්වේ. සඤ්ඤාව**

**ඇතිතැනයි මේ වටාපත ඉපදුණේ කියලා දැකලා වටාපත ඉපිද නිරුද්ධ වෙනබව සඤ්ඤා නිරෝධය ශාක්ෂාත් කළා.**

**දැන් ඕතන නිරෝධය ශාක්ෂාත් කරගත්ත, නිරෝධය ඇත්ත කරගත්ත කෙනා ඒ නිරුද්ධයි කියන නිරෝධ සඤ්ඤාවට සමවදිනවා. ඒ නිරෝධයි කියන බවට.**

මොකද ඒකට සමවදින්න පුළුවන් කියලා කියන්නේ දැන් ඕය සඤ්ඤාව නිරුද්ධයි කිව්වට අපිට ඕක ස්පර්ශ වෙන්නේ නෑ ගොඩක් වෙලාවට, අනිත් සඤ්ඤා ඇත්ත වෙලා. වටාපත කියන සඤ්ඤාව නිරුද්ධ වුණාට අනිත් සඤ්ඤා ටික ඇත්ත වෙලා අපිට. එහෙම නෙවෙයි. හැම වෙලාවකම තමන් කියන බවමයි වටාපත කියලා දකින කෙනාට, තමන් ගෙන් තොර වටාපතත්, වටාපතෙන් තොර තමනුත් හම්බවෙන්නේ නැතිබව තියන කොට එයාට මුළු ජීවිතේම, මුළු ආත්මභාවයම, මුළු පුද්ගලයාම මුළු ජීවිත කෘත්‍යම කරන තැන වටාපත කියන ඒ සඤ්ඤාව විතරයි. එයා තමන් තමන් තුළ ජීවත්වෙලා. **ඒ නිරෝධය එතන අවබෝධ කරගන්න කොට ඒ සඤ්ඤාව ඉතුරු නැතුව නිරුද්ධ වෙන බව අවබෝධ කරගන්න කොට තමන්ගේ නිරෝධය ශාක්ෂාත් කරලා. පවතින්න දෙයක් හම්බවෙන්නේ නෑ එයාට. පවතින්න දෙයක් හම්බවෙන්නේ නැතිකොට ඒ නිරෝධයට සමවදිනවා. තමන්ගේ නිරෝධයටම තමන් සමවදිනවා.** එතකොට එතනත් සඤ්ඤාවක් නෑ. ඇයි, සඤ්ඤාවම වුණ තමන්ම තමාගේ සඤ්ඤා වූ නිරෝධයම දැකලා ඒකටම සමවදින බව. ඉතින් බොහෝම ගැඹුරින්ම බුදුරජාණන් වහන්සේ කරුණු දක්වපු තැනක් ඕය.

රෑ බෝවන නිසා අදට අපි මේ සාකච්ඡාව මෙතනිනින් නවත්වමු කියලා හිතනවා.

මේ පින්වතුන්ට දහම නිවැරදිව තෝරාගෙන මේ සසර දුක අවසන් කරගන්නට මේ කළ දේශනාවත් හේතු උපනිශ්‍රයම වේවා !

සැම දෙනාටම තෙරුවන් සරණයි!

සාධු! සාධු!! සාධු!!!



විපාක

ස්පර්ශය

දැනගත් දේට සිතන බව

සිතනදේට දැනගත් බව

වේදනා

ඵලය

ඇස

චේතනා

මනෝ විඤ්ඤාණය

සංඛාර

මනෝ විඤ්ඤාණය

චක්ඛු විඤ්ඤාණය

සංඥා

රූපය

උපාදානස්කන්ධ

මාර්ගය

සැ.යු . ධර්ම දේශනාවට අදාල දහම් කරුණක් පැහැදිලිකිරීම සදහා පමණක් මෙම සටහන යොදාගන්නා බව කරුණාවෙන් සලකන්න .

